සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2563 ක් වූ බිනර මස (ව්‍යවහාරික වර්ෂ 2019 සැප්තැම්බර්)

97 වෙනි කලාපය




රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# වෛර ඇත්තෝ සසර දිනති...

අනිස දුක අනත ලෙස පස් කඳ දකින
විලස අටැඟි මග දැහැමිව දිවි ගෙවන
අලස නොව බවුන් වැඩුමෙහි වෙර වඩන
මනස දියුණු සත හට අත්වෙයි නිවන

සත හට මෙලොව කොයි කා හට වුව කෙබඳු
හැම විට කුළුණු මෙත් සිත එක ලෙස විහිදු
තිලොවට තිලක සම්මා සම්බුදු සමිඳු
මොනවට කියා දුනි මග දුරලන අවිදු

පෙරමුණ ගනිති බුදුවරු මග කියා දෙන
උරනුර ගැටී යා යුතු එහි හඹා ගෙන
අරමුණ කොට එකම භව දුක නසා ලන
පර ලොව දිනිය යුතු බුදු බණ අසා දැන

රා දොස් ඈ කෙළෙස් මුල් සිඳ දැමීමට
ලෝ සත් වගට හැකි නම් වෙර දැරීමට
මේ අත් බවෙහිදිම මොහඳුර නැසීමට
ඒ පින් වුවද ඇත මොක් සුව ලැබීමට

කෙළෙසුන් පිරි දුදන වැලි මෙනි මහ පොළවේ
පිරිපුන් ගුණැති අය නිය පිට වැලි සමවේ
මුනිඳුන් සතට දෙසු සිරි සදහම හමුවේ
විදසුන් නැණ යොමා සිව්සස් දත යුතුවේ

නිතර සොව කඳුල දුක හදවත දවන
අතැර ජරා දුක මරණය සං සිඳුන
සසර සයුර පරතෙර නම් වූ නිවන
කවර සතට වුව ලද හැක වෙර යොදන

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# කරණීයමත්ත සූත්‍රය ආරක්ෂාව සලසා ගැනීමට හා නිවන් දැකීමට භාවිතා කළ යුතු අයුරු.

## කරණීයමත්ත සූත්‍රයේ නිධාන කතාව

බුදු පියාණන් වහන්සේ සැවැත් නුවර දෙව්රම් වෙහෙරේ වැඩ වාසය කරන කාලයේ, සසර දුක වැටහුණු භික්ෂුන් වහන්සේලා පන්සියයක් පමණ බුදුන් වහන්සේගෙන් කමටහන් අරගෙන, හිමාල වන ප්‍රදේශයේ එක්තරා වන පියසක වස් විසුවා. උන්වහන්සේලාගේ සිල් ගුණ තේජස නිසා ඒ වනයේ වෘක්ෂ දේවතාවන්ට තමන්ගෙ රුක් විමන්වල වාසය කරන්න බැරිව තමන්ගෙ පිරිස් සමග විමන්වලින් බැහැල හැසිරෙන්න පටන් ගත්තා. භික්ෂූන් වහන්සේලා මාස තුනක්ම වන පියසේ වාසය කරන බව දැනගත්ත දේවතාවෝ, තමන්ට එච්චර කාලයක් විමන්වල වාසය කරන්න බැරි බව දැනගෙන උන්වහන්සේලා පලවා හැරීමේ බලාපොරොත්තුවෙන් නොයෙක් බියජනක උපක්‍රම යෙදුවා.

රාත්‍රී කාලයේ භයානක වෙස් අරගෙන භික්ෂූන් ඉදිරියේ පෙනී සිටින්නත්, භයානක සද්ද ඇතිකරන්නත් පටන් ගත්තා. මේ කරදර නිසා භික්ෂූන් වහන්සේලාට නිසියාකාරයෙන් භාවනාවේ යෙදෙන්න බැරි වුණා. එයින් බියට පත් වෙච්ච භික්ෂූන් වහන්සේලාගේ ශරීර දුබල වුණා. දුර්වර්ණ වුණා. පඬුවන් වුනා. සමහර අවස්ථාවල සිහිසුන් තත්වයටත් පත්වුණා. ඒ තත්වයන් යටතෙත් භික්ෂූන් වහන්සේලා ඒ වන පියස අත්හැරල යන්නෙ නැතිව ඉන්නකොට, ඉවසගෙන ඉන්න බැරි තරම් නපුරු ගන්ධයන් ඇති කළා. සිත් එකඟ කරගන්න බැරිව හිටපු භික්ෂූන් වහන්සේලාට ඒ ගඳින් බලවත් හිසේ වේදනා ඇති වුණා. නමුත් තමන් දකින, තමන්ට දැනෙන දේ ඔවුනොවුන්ට කියන්නෙ නැතිවම හුදකලා ස්වභාවයෙන්ම වැඩ වාසය කළා.

දවසකට වාරයක් සංඝ ස්ථවිරයන් වහන්සේ හමුවීම ඒ භික්ෂූන් වහන්සේලාගේ සිරිතක්. දවසක් සංඝ ස්ථවිරයන් දකින්න වැඩම කළාම උන්වහන්සේ මේ දුබල වෙච්ච මලානික වෙච්ච දුර්වර්ණ වෙච්ච ශරීර තියෙන භික්ෂූන් වහන්සේලා දැකල කරුණු විමසුවා. උන්වහන්සේලා තම තමන්ට වනාන්තරයෙදි විඳින්න සිද්ධ වෙච්ච කරදර ඒ විදිහටම ප්‍රකාශ කළා. සංඝ ස්ථවිරයන් වහන්සේගේ අනුසාසනා අනුව උන්වහන්සේලාට බාධක නැති සුදුසු සෙනසුනක් ලබා ගැනීම සඳහා සාකච්ඡා කරල බුදුරජාණන් වහන්සේ කරා වැඩම කරල මේ සිද්ධ වෙච්ච සියලු කාරණා සැලකළා.

ඒ පිළිබඳව ආවර්ජනා කළ බුදු පියාණන් වහන්සේ, ඒ සෙනසුන හැර ඒ භික්ෂූන්ට සුදුසු වෙනත් සෙනසුනක් දඹදිව් තලයේ නැති බව දැනගෙන, ආරක්ෂාවක් වශයෙනුත් කර්මස්ථානයක් වශයෙනුත් මේ කරණීය මත්ත සූත්‍රය වදාරල, සියලු කරදර දුරු කරගෙන ඒ ස්ථානයේම වාසය කරන්න අනුසාසනා කළා.

නුඹලා ඒ දෙවියන්ගෙන් නිර්භයව ඉන්න කැමති නම් මේ පිරිත ඉගෙන ගන්න. ඒක නුඹලාට පිරිතකුත් කමටහනකුත් වෙනවා. ඒ නිසා මේ කරණීයමත්ත සූත්‍රය මසකට 8 වරක් බණ අහන දිනවල සජ්ඣායනා කරන්න. සූත්‍රය ඇසුරු කරල ධර්ම කතා, ධර්ම සාකච්ඡා සහ අනුමෝදනාත් කරන්න. කර්මස්ථානයක් වශයෙන් සලකල පුරුදු කරන්න. භාවනාවක් වගේ නැවත නැවතත් වඩන්න. එතකොට අමනුස්සයින්ට බිය ගන්වන්න බෑ. නුඹලා වැඩ ඉන්නවට ඔවුන් කැමති වෙනවා, උදව් කරනවා.

උන්වහන්සේ මේ විදිහට අනුසාසනා කළාම භික්ෂූන් වහන්සේලාත්, එහෙමයි භාග්‍යවතුන් වහන්සේ කියල පිළිඅරගෙන අවසර අරගෙන ඒ සෙනසුන කරාම වැඩමකරල මෙත් පිරිත් කළා. දේවතාවොත් සතුටු වෙලා උපකාර කරමින් ආරක්ෂාවත් සැලසුවා. භික්ෂූන් වහන්සේලාගේ සෙනසුන් ඇමදීම, පැන් සැපයීම ආදී වත්පිළිවෙත් පවා ඉටු කළා. ඒ භික්ෂූන් වහන්සේලා කරණීය මත්ත සූත්‍රයේ දැක්වෙන ආකාරයට මෛත්‍රී භාවනා කරල මෙත් වඩල ඒකම පාදක කරගෙන ධ්‍යාන උපදවා ගෙන විදසුන් වඩල ඒ වස් කාලය තුළ අරිහත් ඵලයට පත්වුණා.

ඉතින් මේ මෙත් භාවනාව අදත් හරියාකාරයෙන් වඩනවනම්, ගිහි පැවිදි කාටත් සතුරු භය දුරු කරගෙන ආරක්ෂාව සලසා ගන්නත්,

මෙලොව දියුණුව සඳහාත්, මරණින් මතු ස්වර්ගයේ ඉපදීම සඳහාත්, සීල සමාධි ප්‍රඥා ගුණ වඩමින් මහඟු වූ මාර්ගඵල අවබෝධය ලබාගෙන නිවන් සුව ලැබීම සඳහාත් මහෝපකාරී වන සූත්‍රයක් බව දැන ගන්න ඕන. මේ සූත්‍රය තේරුම් ඇතිව යමෙක් කියනවනම්, ඔහු මිනිසුන්ට දෙවියන්ට සහ අමනුස්සයින්ට ප්‍රිය වෙනවා. ඒ වගේම ආරක්ෂාවත් සැලසෙනවා. මෛත්‍රී භාවනාවෙන් ලබන්න පුළුවන් මහඟු අනුසස් අඩු නැතිවම ලබනවා. එහෙනම් මේ සූත්‍රයෙන් කියවෙන දහම් අර්ථය හරියට විග්‍රහ කරල දැනගන්න ඕන.

## කරණීයමත්ත කුසලේන යංතං සන්තං පදං අභිසමේච්ච

යම් ඒ ශාන්ත පදනම් වූ අභිසමයට හෙවත් නිවනට පැමිණීම සඳහා කුසල් වැඩෙන්න කළ යුත්තේ කුමක්ද?

**සක්කෝ** - සක්කයෙක් වෙන්න. මේ උපමාවක්. සක් කියන්නෙ සුද්ධ කියන එක. හක් ගෙඩියක් වගේ, එහෙම නැත්නම් සක්සුදක් සේ සුද්ධවන්තයෙක් වෙන්න, පවිත්‍ර වෙන්න, ගුණවන්තයෙක් වෙන්න. හැම දෙයක්ම සුද්ධ හිතකින් යුතුව කරන්න කියන්න හිතන්න. ඒ විදිහට සුද්ධ සුවය දෙන සියලු වැඩ අලෝභ අද්වේශ අමෝහ වෙනවා. ලෝභ ද්වේශ මෝහ සිතිවිලි ක්‍රියාවන්වලින් ගෙනත් දෙන්නෙ සුද්ධ සුව දෙන යහපත් දේ නෙවෙයි. ඒවා සුදුසු වැඩ නෙවෙයි. මේ බුද්ධ වචනය අනුව තුන් භවයෙන්ම මිදෙන්න හේතුවන සැකසුම් ඇත්තෙක්ව කටයුතු කිරීම සක්කෝ කියල අදහස් කරනවා.

**උජූච** - ඍජු වෙන්න. අර කලින් කිව්ව සක්කයාගේ හෙවත් සුද්ධවන්තයාගේ වැඩ අවංකයි. අසුද්ධයාගේ වැඩ වංකයි. කරන කියන හිතන වැඩවල ඇදක් නැත්නම් ඒ ඍජු පුද්ගලයෙක්. ලෝභයත් ද්වේශයත් මෝහයත් නැත්නම් ඍජු පුද්ගලයෙක්. උජුව හෙවත් ඍජු කරන්න ඕන හිත මිසක් කය නෙවෙයි. සුද්ධ වෙච්ච කෙනෙක් නම් ධර්මතාවයට අනුවම අවංක වූ ඍජු පුද්ගලයෙක්. උජුව හෙවත් අවංක බවක් වෙනවද, අරි අටඟි මග දැනගෙන ඒ අනුව සිත කය වචනය පිහිටුවිය යුතුයි.

**සුජූච** - කිව්වම සියලු පැත්තෙන්ම අවංක විය යුතුයි. ඒත් පුංචි පුංචි ඇද කුද හැංගිලා තියෙන්න පුළුවන්. අන්න ඒ නිසා පුංචි වංකකමක්වත් තිබුනොත් ඍජු නෑ. මට නිවන අවශ්‍යයි, ඒ නිසා මම ඒ වෙනුවෙන් අවංක වෙනවා. මම අලෝභයෙන් අද්වේශයෙන් අමෝහයෙන් පරිපූර්ණ නිසා සූජුව කියන ගුණයට පත්වෙලා අවසන්. සූජුව කියන්නෙ මනා අවංක බව නම් සප්ත බොජ්ඣංග ධර්ම දැනගෙන ඊට අනුකූලව සිත කය වචනය සකස ගන්න ඕන.

**සුවචෝ චස්ස** - තමන්ගෙ වචන සියල්ල නිවනට හේතුකාරක වන දෙයක් නම්, ඒවා අලෝභ අද්වේශ අමෝහ නම් සුවචයි. මේ සුවචතාවය අබුද්ධෝත්පාද කාලයක හෝ මේ සාසනයෙන් බැහැරව හෝ කිසිමදාක පිහිටන දෙයක් නෙවෙයි. සුවච නම් වූ යහපත් හෙවත් නිවනට පමුණුවන වචනය ඒ බුද්ධ වචනය බව දැනගෙන, අනිච්ච දුක්ඛ අනත්ත දැනගෙන ඊට අනුකූල වූ වචන ඇති කෙනෙක් විය යුතුයි.

**මුදු** - අනවශ්‍ය තද ගතිය නැතිව මෘදු විය යුතුයි. මෙතෙක් කල් මට නිවන් මගට ඇතුළු වෙන්න උපනිශ්‍රය වෙන්න බැරි වුණේ මගෙන් සිද්ධ වෙච්ච ප්‍රමාද දෝස නිසා. එදා කෙනෙක් අවවාදයක් කළාම හදවතේ සැඟවිලා තිබ්ච්ච දැඩි ගතිය නිසා තරහ ගියා. නමුත් ක්‍රමයෙන් මුදු ගතියට පත් වෙනකොට ඒ දෙන අවවාද නිවන් දැකීම සඳහා සිදු වෙමින් තිබුණ ප්‍රමාද දෝස මගහරවා ගන්න උපකාර වුන බව නුවණින් දකින්න පුළුවන් වුනා. මෙන්න මේ ගති ලක්ෂණය තමයි මුදු බව කියන්නෙ. මුදු කියන්නෙ ආභරණ හදන්න බොර කුණු සහිත හෝ රන් පෙරාගෙන මෘදු කරගන්නව වගේ නිවන් මගටම යොමු වන්නා වූ මෘදු කළ සිත් ඇති කර ගැනීම.

**අනතිමානී** - කුලමාන, ධනමාන, නිලමාන කියන උද්දච්චකම් පෙන්වන සියලු අතිමානයන්, පුහුමානයන් අත්හරින්න ඕන. මානෙයෙන් අල්ලගත යුතු කිසිවක් මේ ලෝකයේ නෑ. ඒ නිසා සියලු මානයන් අත්හැර දමා අනතිමානී වෙන්න. අනතිමානී කියනකොට, මානයෙන් පිහිටන්න තරම් සාරවත් වස්තුවක් තුන් භවයෙම නැති බව දැනගෙන, ලෝකයේ පවතින සියලු තත්ව තානාන්තර, කුලමල, ජාති, නිලතල ආදියේ නිස්සාර භාවය සිහිකරමින් නිහතමානී විය යුතුයි.

**සන්තුස්සකෝච** - සන් කියන්නෙ හිත හෙවත් සන්තානය. මේ හිත සතුටු වෙන්නෙ සඳහටම සැනසුම ලබාදෙන නිවන ලැබුණොත් විතරයි. අනාගතයේ අත්විඳින්න සිද්ධවෙන මහා දුක් කන්දරාව දකින්නෙ නැතිව, අද ලබාගන්න පුළුවන් ලෞකික සුවය ගැන විතරක් හිතල සතුටු වෙනවනම් ඒක මහා අනුවණකමක්. අනාගතයේ මහා සැපයක් ශාන්තියක් අත්වන නිවන දැකල මහා සතුටකින් යුතුව, අද මොන දුකක් වින්දත් ඒක සන්තුස්සකෝච වෙනවා. අනාගතයේ විමුක්තිය දැකල දුක සතුටින් විඳීමේ හැකියාව තියෙන කෙනාට ලැබෙන ඵලය සදාතනික දුකින් නිදහස් වීම නම් ඒ තැනැත්තා සන්තුස්සකෝච කියන තැනට පත්වුණ කෙනෙක්. සන්තුස්සකෝච කියනකොට, තුන් භවයෙම තියෙන සියළු ලැබීම් අනිච්ච බව සිහි කරල විපරිණාමික නිස්සාර දේ බව සිහි කරල, මොනවා ලබාගෙන සතුටු වෙන්නද කියල නුවණින් දකිමින් මගඵල පූර්ණ කරගෙන උත්තරීතර රහත් ඵලයෙන් භව දුක නසන කල් කයේ පැවැත්ම අවශ්‍ය බව දැනගෙන සිව්පසය වගේ දේවල් පරිහරණයකින් සතුටු වෙන්න පුළුවන් බව තේරුම් ගන්න ඕන.

**සුභරෝච** - සුභරෝච කියන්නෙ සුව දෙන බරක්. ලෝකයා සුව දෙන බරක් කියල දුක් දෙන බරකට කරගහනවා. මේ විදිහට කරගහන බර මනසටත් බරක්. නුවණැත්තෝ සුව දෙන බර මිසක් දුක් දෙන බර කරට අරගෙන දුක් වෙන්නෙ නෑ. ඒ නිසා අනාගතයේ විමුක්තිය දෙන සුදු සුවයට හේතු වන බර විතරක් දරා සිටිනව නම් අන්න ඒ බර සුභරෝච. සුභරෝච කියන තැනදී, නිවන් දකින්න අවශ්‍ය මාර්ගය පූර්ණ කරගන්න සුදුසු දහම් ක්‍රියා, කතා දැනගෙන ඒවායෙන්ම මාර්ග පෝෂකයෙක් වෙන්න ක්‍රියා කළ යුතුයි.

**අප්පකිච්චෝච** - නිවනට පත් වෙන්න හේතුකාරක වන අත්හැරීමටත්, මිදීමටත්, නොඇල්මටත් කරන්න තියෙන කිච්ච හෙවත් කටයුතු ඉතා අල්පයි. ඒත් ලෝකය අල්ලගන්න බදාගන්න තියෙන කටයුතු බොහොම විසාලයි. අභිසමයට හෙවත් නිවනට පත්වෙන්න කටයුතු කරන පුද්ගලයා, සුබර විතරක් දරාගෙන ලෝකය අල්ලගන්න හේතුවන රාගයත් ද්වේශයත් මෝහයත් කියන මහ බර පැත්තකින් තියනවා. අන්න ඒ නිසා නිවන් දකින්න උපකාරී වන ආර්ය අෂ්ඨාංගික මාර්ගය කියන, වැඩ අඩු ඉතා පුංචි අප්පකිච්චයට පත්වෙනවා. එහෙම නැත්නම් අල්ප කටයුතුවලට පත් වෙනවා.

අප්පකිච්චෝච කියන කොට, ලෝකයේ පැවැත්මට හිත තියල කටයුතු කරන අයට කාර්ය බහුල නිසා, ඒ කටයුතුත් විසිරීම් සහිත කලබල

සහිත බව දැනගෙන, නිවනට හේතු වෙන යම් ක්‍රියාවලියක් ඇත්ද, ඒවා ශාන්ත බවත් හික්මීම් සහගත බවත් වටහා ගෙන අති විසාල වූ නිසරු හිස් ක්‍රියා අත්හැරල නිවනට හේතුවන අල්ප ක්‍රියාවන් තේරුම් අරගෙන ඒ අනුව ක්‍රියා කරන්නෙක් විය යුතුයි.

**සල්ලහුකවුත්ති** - සල් කියන්නෙ සලා හරිනවා. ලහුක කියන්නෙ ලෝකයේ ලාමක පැත්තට වට්ටවන අසික්කිත වූ කියන තේරුම. වුත්ති කියන්නෙ වැඩපිළිවෙළට. අභිසමයට හෙවත් නිවන් දකින්න කැමති පුද්ගලයා රාග ද්වේශ මෝහයෙන් යුක්ත වූ ලෝකයේ ලාමක පැත්තට වැටෙන්නා වූ අසික්කිත වැඩ සියල්ලම සලා හරිනවා. අත්හැර දාල නිදහස් වෙනවා.

එහෙනම් සල්ලහුකවුත්ති කියන්නෙ, ලෝකයේ පැවැත්මට හේතු වෙන පැවතුම්වලදී, ඇලීම් ගැටීම්වලට ගොදුරු වෙමින් කැලඹීම් සහගත ගැටීම් සහගත ගති පැවතුම් ඇති බවත්, ඒවා නිස්සාර බවත්, අවසානය නිශ්ඵල බවත් දැනගෙන, යම් ගති පැවැත්මක් ධර්මාවබෝධය පිණිස නැමිල තියෙනවද, විරාග නිශ්‍රිතද විවේක නිශ්‍රිතද නිරෝධ නිශ්‍රිතද නිවනට නැමී සිටිනවද කියල නුවණින් විමසා දකිමින් ඒ සැහැල්ලු ගති පැවතුම් තෝරාගෙන ඊට අනුකූලව කටයුතු කිරීම.

**සන්තින්ද්‍රියෝච** - නිවන් දැකීමට නම් ශාන්ත වූ ඉන්ද්‍රියන් ඇතිකරගත යුතුයි. සසර පුරුද්දට අපි අදටත් කරන්නෙ පංචේන්ද්‍රියන් පිනවන හොඳ හෝ නරක විවිධ අරමුණු ඔස්සේ දිවීම. ඒ දිවීමේ ආදීනව නුවණින් බලල ඒ පසුපස යන්නෙ නැතිව නිවන් ශාන්තිය අරමුණු කරගෙන ශාන්ත බවට පත්වෙන්න පුළුවන් නම් ඒ තමයි සන්තින්ද්‍රියෝච වීම.

එහෙනම් සන්තින්ද්‍රියෝච කියන්නෙ, ඇස, කන... ආදී ෂඩ් ඉඳුරන් රූප, ශබ්දාදී... කාම වස්තු පරිහරණයට, ආස්වාදයට යොමුකිරීමෙන් කාම හා භව සංස්කාර ආදියට හේතු වෙන බව දැනගෙන, සමාධියට බාධක වන බව දැනගෙන, රූප, ශබ්ද... ආදියෙත් ඇස, කන... ආදීයෙත් හටගැනීම, විනාසය, ආස්වාදය, ආදීනවය, නිස්සරණය තතු සේ දකිමින් ඉන්ද්‍රිය භාවනාවෙන් යුක්තවීම කියල දැනගන්න ඕන.

**නිපකෝච** - පාක කියන්නෙ යමක් පැහෙනවා, මෝරනවා, සකස් වෙනවා කියන අදහස. යම් කර්මයක් කළොත් ඒ කර්මය විපාක දෙනවා. ඒ වගේම මතු භවයෙදිත් විපාක දෙන්න මෝරන පැහෙන සකස් වෙන සසර ගමන දික් කරන කර්මයක් වුණොත්, නිවන් මගට යොමු වූ ආර්ය පුද්ගලයා ඒ පාක පැත්තෙන් නික්මෙනවා. විපාක පැත්තෙන් නික්මෙනවා. නි පාක -නිපක වෙනවා.

එහෙනම් නිපකෝච කියන තැනදි යම් අරමුණක් තමන්ට ඇසුරු කරන්න ලැබෙනවද, ඒ ඇසුරෙන් කෙබඳු සංස්කාරයක් වෙනවද, එයින් කෙබඳු විඤ්ඤාණයක් වෙනවද, කෙබඳු නාම රූපයක්, සළායතනයක්, ස්පර්ශයක්, වේදනාවක්, තණ්හාවක්, උපාදානයක්, භවයක්, ජාතියක් වෙනවද කියල, ඒ ඒ තැන නුවණින් දැකල, ඒක ඇසුරු නොකිරීමෙන් නිරෝධයට පත් වෙන බවත් තේරුම් අරගෙන නිවන් මග වැඩිය යුතුයි.

**අප්පගබ්බෝ** - නිපාක කරගත්තම ගැබ් කර ගන්නා ප්‍රමාණය අඩු වෙනවා. මේවා තේරුම් ගත්ත ආර්ය පුද්ගලයා හිතේ හටගන්නා රාග ද්වේශ මෝහ සියල්ල පහකරල දානවා, ඉවත් කර හරිනවා, සලා හරිනවා. සියලු බැඳීම් ඉවත් කරනවා. අන්න එතකොට හිතේ ගැබ් කරගන්න ඒවා ඉතා අල්ප වෙනවා. අප්ප ගබ්බ වෙනවා.

එහෙනම් අප්පගබ්බෝච කියන තැන ගර්භයෝ කියන්නෙ මොකක්ද කියල තේරුම් ගන්න ඕන. ලෝක ගර්භයේ ඇසුර අත්හැරියෙ නැති සත්වයෝ, ගර්භස්සායික බවට හේතු ඇති සත්වයෝ, දේව ගර්භ, මනුස්ස ගර්භ, තිරිසන් ගර්භ, ප්‍රේත ගර්භ ආදී බොහෝ ගර්භයන්ට හිමිකම් තියෙන නිසා බහු ගර්භයෝ වෙනවා. යමෙක් දර්ශන සම්පන්න හෙවත් සෝතාපන්න වෙනවද, ඔහු සතර අපාගත ගර්භයන්ගෙන් මිදෙනවා. ලෝකයේ තතු ඇති සේ දකිමින් සසර සැඩ පහර අල්ප කරමින් සැඩ ගතිවලින් මිදෙනවා.

**කුලේසු** - මේ සුද්ධ මාගදී භාසාවේ කුලේසු කියන්නෙ කුහුල්-කුල, එහෙම නැත්නම් කුකුස් කියන තේරුම. ලෝකයා හැම වෙලාවෙම ඉන්නෙ මහා කුකුස් සහගත ළයකින්, හදවතකින්. මොකද, මගේ දේවල් අනෙකා උදුර ගනියිද පැහැර ගනියිද, මගේ භාර්යාව කවුරුවත් පැහැර ගනියිද, මගේ ස්වාමි පුරුෂයා පැහැර ගනියිද, මගේ දරුවා පැහැර ගනියිද මගේ ධනය/දේපල වෙන කෙනෙක් හොරා ගනියිද, මගේ ජීවිතයට හානියක් වෙයිද... කියන මෙන්න මේ වගේ මහා කුකුසකින් තමයි සදාකාලිකවම ජීවත් වෙන්නෙ.

**අනනුගිද්ධෝ** - මෙන්න මේ කුකුස තියාගෙන ඒවා ගිලගන්න දරාගන්නවට තමයි අනුගිද්ධ කරනවා කියන්නෙ. ලෝකයා සංසාරය පුරාවටම කරමින් ඉන්නෙ ඒ වගේ කුකුස් ගිලගනිමින් දරාගනිමින්. ඒත් නැවත නැවතත් බලාපොරොත්තු වෙන්නෙත් ගිලගන්න, දරා ගන්නමයි. මේ ගිල ගැනීමේ දරාගැනීමේ සියලු බලාපොරොත්තු අත්හැරල දැමීම තමයි අනනුගිද්ධ කියන්නෙ.

කුලේසු අනුගිද්ධෝ කියනකොට, යම් දේව කුලයක් හෝ බ්‍රහ්ම කුලයක් හෝ ප්‍රිය කළේද, ඊට අනුකූල වුණාද, එහි ඉපදීමට හේතු වෙනවා. යම් මනුස්ස කුළයක් ප්‍රිය කළාද, ඊට අනුකූලව කටයුතු කළාද, ඒ කුලයේ උපදින්න හේතු වෙනවා. ලෝකයේ කෙබඳු හෝ කුලයක් වෙනවද ඒක සදාතනිකව පවතින්නෙ නෑ, පරිණාමිකයි, ඉතිරිවන කිසිම හරයක් කෙලවරදි බැලුවම නෑ. මේ තත්ත්වය නිසි සේ වටහා ගත්තම කුලයන්වල ඇලෙන්න යන්නෙ නෑ, අනනුගිද්ධො වෙනවා.

**නච ඛුද්දං සමාචරේ** - ඛ කියන තනි අකුරෙන් කියන්නෙ මහා පහත් ක්‍රියා, අසමාචාර ක්‍රියා. උද්ධං කියන්නෙ උස්ස ගන්නවා. ඛු උද්ධං කියන්නෙ, අසමාචාර වැඩ බොහොම වැදගත් කියල හිතාගෙන අසමාචාර ක්‍රියාවලට මුල් තැන දීල ඒවා උස්සගෙන ඒ අනුව ක්‍රියා කිරීම. නච ඛුද්ධං සමාචරේ කියන්නෙ ඒවායින් ඉවත්වෙලා සමාචාරයේ හැසිරීම.

**කිංචි යේන** - කෙසේද කියන එක.

**විඤ්ඤූපරේ උපවදෙයුං** - මාර්ගඵල ලබපු ඥානවන්ත වූ ලොව්තුරා බුදුවරු, පසේ බුදුවරු, මහ රහතන් වහන්සේලා කියන මේ විඤ්ඤූන් විසින් අපට දෙන උපදේශය මොකක්ද? අවවාදය මොකක්ද? මෙන්න මේ අසමාචාර වැඩවලින් වෙන්වෙලා නිවනට හේතු වෙන කරුණු කාරණා සතියෙන් යුක්තව ඇසුරු කරමින්, සසර ගමනට හේතුවන කරුණු කාරණා සතියෙන් යුක්තව පහකරමින්, ඇසුරු කළ යුත්තත් පහකළ යුත්තත් දැනගෙන යන ආර්ය පුද්ගලයාට සතර සතිපට්ඨානයම අඩු නැතිව වැඩෙනව කියල උන්වහන්සේලා අවවාද කරනවා. සතියෙන් යුතුව දැනගෙන වැඩුවොත් ආර්ය භාවනා තුළ තියෙන නිවන් මග තමයි



මේ. පහකර හැරිය යුතු ලෝක ධර්ම සියල්ල පස්සාස කරමින්, ඇසුරු කළ යුතු නිවනට හේතුවන ධර්ම විතරක් අස්සාස කරමින් යනවනම් ඒ තමයි ආනාපාන සතිය.

එහෙනම්, නව බුද්දං සමාචරේ කිඤ්චියේන විඤ්ඤූපරේ උපවදෙය්‍යුං කියනකොට, යම් අසමාචාරයක් හෝ ඒ සමග හැසිරීමක් වෙනවද, ඒක භවයේ පැවතීමට හේතු වෙනවා. කිසිම භවයක පහළවීමක් නොපතනකොට, බලාපොරොත්තු නොවෙනකොට නිවන් මාර්ගයක් වෙනවා. කෙබඳු භවයක හෝ බලාපොරොත්තු තිබ්බ නම් නිවන් මගට බාධා වෙනවා. ඥානවන්තයෝ, ආර්යයෝ භවය වර්ණනා කරන්නෙ නෑ. ඒ කෙරෙහි ඇලෙන්නෙ නෑ. කුඩා වූ හෝ වරදක්, නීවරණයක් හෙවත් නිවන් මගට බාධාවක් විදිහට නුවණින් දැන ගෙන දුරින්ම දුරු කළ යුතුයි. එතකොට විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිණාමි වෙනවා.

**සුඛිනෝවා** - සුඛයට පත්වේවා. මේ සුඛය ලෞකික කාම සුඛයක් නෙවෙයි. ලෝක සත්වයා කරමින් ඉන්න දුක් සහගත අනාගත වැඩපිළිවෙලකට සුවපත් වේවා කියල කිව්වොත්, ඒක නිවන් සුවය පැතීමක් නෙවෙයි. තපෝ ගුණය හැර, බොජ්ඣංග ධර්ම හැර, නිවන හැර, ලෝ සතුන්ට වෙනත් සුවයක් මම නොදකිමියි කියන බුද්ධ අදහස දෙන සුවයට පත්වේවා කියන අදහසිනුයි සුඛිනෝවා කියල පැතිය යුත්තේ. මේ සුඛිනෝවා කියන සුවය තෝරන්න, තමන් වහන්සේත්, තමන් වහන්සේගේ සාසනයෙන් පැවතෙන ආර්ය උත්තමයන් වහන්සේලාත් හැර, වෙනත් කිසිම කෙනෙක් මේ තුන් ලෝකයේ නැති බව බුදුන් වහන්සේ දේශනා කරනවා.

**ඛේමිනෝ හොන්තු** - ඛේමයට පත්වේවා. නිවනින් පිට සුඛයක් නෑ. නිවනින් පිට ඛේමයක් නෑ. යම් තැනක බය නැත්ද, ඒ නිර්භය වූ එකම තැන තමයි නිවන. ආර්යයෝ පංච කාමයට බයයි. අනාර්ය වූ ලෝකයා පංච කාමය නැතිවෙලා යනවට බයයි. ආර්ය නොවූ ලෝකයා කාම ලෝකයේ ඇලිල ගැලිල ඒවා නැති වෙලා යයි කියන බයට කාම භුක්ති හදාගෙන මාරයාගේ ගුලටම රිංග ගෙන, ඒ කාම සුවය වෙන කෙනෙක් පැහැර ගනියි කියන බයට මාරයාගේ ගුලෙන් ඉවත් වෙන්න බයේ ඉන්නවා. ලොව්තුරා බුදු, පසේබුදු, මහරහතන් වහන්සේලා පංචකාමය බය කියන නමින් හැඳින්වුවත්, අනාර්යයෝ ඒ වචනය පංචකාමය නැති වෙයිද කියන බයටයි යොදන්නෙ.

**සබ්බේ සත්ථා භවන්තු සුඛිතත්තා-** සියලු සත්වයෝ සුවපත් වෙත්වා. මෙතෙක් කල් හුරු පුරුදු කරල තිබුන විදිහට සියලු සත්වයෝ සුවපත් වෙත්වා කියල කියනකොටම, හැම දෙනාගෙම සිහියට එන්නෙ, කරදරයක් නැතිව කාම සුවය විඳින්න, කිසි ලෙඩක් දුකක් කරදරයක් බාධාවක් නොවී සුවපත් වේවා කියන අදහසමයි. නමුත් ඒ අදහස ලෞකිකයි. ඒ නිසා ආර්ය විනයේ කියවෙන, "සියලු සත්වයෝ සුවපත් වෙත්වා" කියන අදහස සියලු දෙනාගෙම හිතට කාවැදිල යන විදිහට වැටහෙන්න නම් "නිබ්බාන පරම සුඛයෙන් සුඛිත තර වෙත්වා" කියල පතන්න ඕන.

**යේ කේචි පාණ භූතත්ථි** - ආර්ය විනයෙදි ප්‍රාණීන් කියන්නෙ කාටද? භූතයො කියන්නෙ කාටද? සසර සැරිසරමින් ඉන්න සත්වයින්ට ප්‍රාණීන් කියල කියනවා. සතර මහා භූතයින්ගෙන් හැදුන අයට භූතයො කියල කියනවා. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පංච කාමයන් පානය කර කර අතෘප්තිකර වූ ආස්වාද ලබමින් ලෝක සත්වයෝ සසර සැරිසරනවා. මේ විදිහට පංච කාමයන් පානය කරමින් යනකොට සංඛාර ගොඩනැගෙනවා. පටිච්ච සමුප්පාදය අනුව සංඛාර නිසා ජාතියක් පහළ වෙනවා. පංචකාම පානයෙන් ජාතිය කියන ප්‍රතිඵලය ලබල භූතයො පහල කරගන්නවා. අත්බවින් අත්බවට යන මේ ගමනෙදි කාම කයක් ප්‍රතිඵල වශයෙන් දරාගෙන ප්‍රාණීන් කියන නාමය බිහි කරගෙන, ඒකෙ ප්‍රතිඵල වශයෙන් භූතයොත් පහල කරගන්නවා. මේ පානය නමැති හේතුව නිසා අත් කරගත්ත එකම ඵලය තමයි භූතය.

**තසාවා** - මෙන්න මේ පංච කාමය පානය කරමින් භූතයන් හදාගනිමින් යන මේ වැඩපිළිවෙල අනුගමනය කරන කෙනා මේ අතෘප්තිකර පානයේදී තොස් බවට පත් වෙනවා. මේ විදිහට පංචකාම ආස්වාදයෙන් තොස් බවට පත්වෙමින් ඉන්න තාක් කල් ඒ අය තසාවා නම් වෙනවා.

**ථාවරාවා** - පංච කාම ආස්වාදය නමැති හේතුවේ ඵලය විදිහට කයක් ලබාගෙන ඒකෙම තැවරෙනවා. ඒ අය තමයි ථාවරාවෝ කියන්නෙ. මේ සසර ගමන අවිද්‍යාවෙන් පීඩිත වෙලා බොහොම කැමැත්තෙන් ආසාවෙන් තණ්හාවෙන් යන අය තමයි තසාවෝ සහ ථාවරාවෝ කියන්නෙ.

**දීඝාවා** - මෙන්න මේ පංචකාම ආස්වාද කෙරෙහි තොස් වෙවී ඒකෙම තැවරි තැවරී, ඒකෙන් මිදෙන්න කිසිම උත්සාහයක් ගන්නෙ නැතිව ඉන්න අයට සසර ගමන දිගයි. මේ වගේ අවිද්‍යා තෘෂ්ණා දෙකින් පීඩිත වෙලා මේවාට තොස් වෙවී, මතුවටත් මේ කය හදා ගැනීම සඳහා තමන්ගෙම කැමැත්තෙන් සසර දිගු කරගන්න අය තමයි දීඝාවා කියන්නෙ.

**මහන්තාවා** - මේ අය මේ විදිහට සසර දිගු කර ගත්ත මදිවට, අවිද්‍යා තෘෂ්ණා දෙකින් හදාගත්ත මේ කුණු කය හරි ලස්සනයි හැඩයි වැඩයි, මම හරි ලොකුයි කිය කියා තොස් වෙවී මහා ලොකු මහත්තත්වයක් ඔළුවට අරගෙන ඉන්න නිසා ඒ අයට මහන්තාවෝ කියල කියනවා.

**මජ්ජිමා** - ඉහත කී ආකාරයෙන් නැවතත් ආපස්සට හැරෙන්නෙ නැති විදිහට තොස් වෙමින් සසර

මාධ්‍යයට බැහැ ගත්ත අය මජ්ජිමාවෝ වෙනවා.

**රස්සා** - මේ විදිහට අවිද්‍යා අන්ධකාරයේ ගිලිල ඉන්න අයගෙ නුවණ රස්ස වෙලා කෙටි වෙලා ඒ නිසාම නිවන තේරෙන්නෙ නෑ. ඒ අය හිතන්නෙම ලෝකය සුවයි සැපයි ඒකෙම හරයක් තියෙනවා කියල. ඒ අය තමයි රස්සයො කියන්නෙ.

**කාණුක** - ක අණුක තමයි කාණුක කියන්නෙ. කහට ගැන්වෙන ලෝකයේ කොටස්කාරයො බවට පත්වෙච්ච, ඒ කියන්නෙ ලෝභයට ද්වේශයට මෝහයට අහුවෙච්ච අය.

**ථූලා** - තැලෙනවා කියන අදහස. ථූ ආලා තමයි ථූලා වෙලා තියෙන්නෙ. පහත් වන්නා වූ ලෝභ ද්වේශ මෝහ අල්ලගෙන ඒවායින් තැලෙමින් ඒවාටම ඇලෙමින්, දිගින් දිගටම සසරේ ගමන් කරන්නෙ ථූලාවෝ. අපි කෙළ ගහනකොට කියන "තු" කියන වචනයේ තේරුම දෙන තුච්ච දේට ආලය කරන අය තමයි ථූලයෝ කියන්නෙ.

**දිට්ඨාවා යේව අද්දිට්ඨා** - ඒ අය මිථ්‍යා දෘෂ්ටියට වැටිල දෘෂ්ටිගත වෙලා. ඒ නිසාම මෝහාන්ධකාරයේ ගිලිල සසර සැරිසරන ඔවුන්ට ඇත්ත පේන්නෙ නෑ.

**යේව දූරේ වසන්ති අවිදූරේ** - ඒ නිසාම සංසාර ගමන දුර කරගෙන, දික් කරගෙන ඒ හේතුවෙන්ම අවිද්‍යා අන්ධකාරයේම වාසය කරනවා.

**භූතාවා සම්භවේසීවා** - සතර මහා භූතයන් දරාගෙන ඉන්න මේ අය මිත්‍යා දෘෂ්ටික සිතිවිලි ක්‍රියා වදන් පහළ කරමින්, කය නමැති භූතයෝ දරාගෙනම ඉන්නවා මදිවට, මේ මස් ලේවලින් හදාගත්ත කයක් මතු ජාතියෙත් පහළ කරගැනීමේ ආසාවෙන් ඒ බලාපොරොත්තු සපල කර ගැනීම සඳහා අවිද්‍යා වැඩපිළිවෙලේම යෙදිල ඉන්නවා.

**සබ්බේ සත්ථා භවන්තු සුඛිතත්තා**- සියලු සත්වයෝ සුඛිත තර තත්වයට පත්වේවා කියල මොකටද මේ අවසානයේ ආශිර්වාද කරන්නෙ? බලන්න අර කැලේ හිටපු, අමනුස්සයො හිරිහැර කරදර කරනව කියල ආපසු වැඩිය භික්ෂූන් වහන්සේලාට බුදු පියාණන් වහන්සේ කියල දුන්න උපදේශය. ඒ උපදේශයේ අඩංගු වෙලා තියෙන්නෙ, මිථ්‍යා දෘෂ්ටියෙන් දෘෂ්ටිගත වෙලා සසර ගමනක් හදාගෙන මේ ලෝක සත්වයෝ දුකට පත් වෙලා තියෙන හැටි සහ ඒ සසර ගමනින් මිදිල සුඛිත තර වෙන හැටි. සුඛයෙන් එතෙර වෙන හැටි. ඒ කියන්නෙ අභිසමයට පත්වෙන්න. අපි කියන විදිහට නම් නිවන් දකින්න කළ යුතු වැඩපිළිවෙලක්. ඒ උපදේශය කියල දුන්නෙ, උන්වහන්සේම ප්‍රශ්නයක් අහල ඒකට දෙන පිළිතුරක් වශයෙන්. මහණෙනි, යම් ඒ සාන්ත පදනම් වූ අභිසමයට පත් වීම සඳහා කරන්න උවමනා කුසලය කුමක්ද?

නැවතත් උන් වහන්සේම පිළිතුරු දෙනවා. ඉස්සෙල්ලම හක් ගෙඩියක් වගේ පවිත්‍ර, පූජාවටත් සුදුසු කෙනෙක් වෙන්න. මෙන්න මේ ඉතාම සරල වූ නිවන් මගට යන්න පුළුවන් ගමන් මග මතක තියාගෙන නැවතත් ඒ කැලේටම ගිහින් භික්ෂූන් 500 නමම එකතුවෙලා ශබ්ද නගල මේ මෙත් සූත්‍රය කියන්න කියල තමයි ආපසු යැව්වෙ. මහා කරුණාවක් පෙරදැරි කරගෙන කියන මේ වැඩපිළිවෙළ සුද්ධ මාගධී භාෂාවෙන් කියන නිසා ඒ කැලෑවෙ හිටපු වෘක්ෂ දේවතාවන්ට වගේම යක්ෂ, ප්‍රේත, භූත, පිසාච, කුම්භාණ්ඩ කියන හැම දෙනාටමත් ටිකෙන් ටික මේ කියන ඇත්ත වැටහෙන්න පටන් ගත්තා. මෙතෙක් දුර තමන් ආවෙ වැරදි මාර්ගයක බව වැටහෙන්න ගත්තා. මේ වැරදි මාර්ගයේ ගිහින් සසර ගමන දිගු කර ගත්ත සියලු සත්වයෝ, ඇත්ත ඇති හැටියෙන් දැකල නිවන් සුවයෙන් සුවපත් වේවා කියල අපිට ආශිර්වාදත් කරනවා. මේ විදිහේ මහා කරුණාවකින් සෙත් පතමින් කියල දෙන්නෙ, අපේම යහපතට බව වැටහෙන්න පටන් ගත්තට පස්සෙ තමයි ඔවුන්ට තේරුම් ගියේ, අපිත් මේ කියන විදිහේ වැඩපිළිවෙලක කොටුවෙලා විඳවන්නෙ මහා දුකක් කියල. මේ විදිහට සසර දුකෙන් මිදෙන නිවන් මග පැහැදිලි කරල ඊට පස්සෙ නැවතත් මෙහෙම කියනවා.

**නපරෝ පරං නිකුබ්බේථ නාති මඤ්ඤේථ කත්ථචි නං කඤ්චි** - මේ වගේ සැනසෙන්න පුළුවන් මෙච්චර වටිනා දහමක් කනට ඇහෙද්දිත්, පෙනි පෙනී තියෙද්දිත්, එකෙක් අනිකෙකුට කුබ්බැහිකම් නොකරාවා, කෙණෙහෙලිකම් නොකරාවා. නොකටයුතුකම් නොකරාවා. මේ දුක් දෙවන සසරින් නිදහස් වෙලා නිවන් දකින්න උත්සාහ කරන්න. මෙහෙම කියන ගමන් අර 500ක් භික්ෂූන්ට කරපු කරදර බාධක නැවත සිහිපත් කරනවා.

**බ්‍යාරෝසනා පටිඝ සඤ්ඤා නාඤ්ඤමඤ්ඤස්ස දුක්ඛ මිච්ඡෙය්‍ය** - මේ විදිහට නුඹලා එකිනෙකාගේ කෝපය නිසා, රොස් බව නිසා, සැඩ ගතිය නිසා, තද අදහස් නිසා, ඒ නිවනේ ශාන්තිය සොයන පන්සීයක් ශ්‍රාවකයින් වහන්සේලාටවත්, නුඹලාටවත්, ඔවුනොවුන් කිසිවෙකුටවත් දුකින් එතෙරවීමක් ලැබෙන්නෙ නෑ.

**මාතා යථා නියං පුත්තං ආයුසා ඒක පුත්ත මනුරක්ඛේ** - අමා මෑණි බුදු පියාණන් වහන්සේගේ යථාර්ථවත් නියම එකම පුතා තමයි අරිහතුන් වහන්සේ. ඒ එකම පුතා අනුරක්ෂණය කරන්න, ඒ කියන්නෙ අරිහතුන් වහන්සේලා බිහි කරන්න, අමා මෑණියන් වහන්සේගේ මුළු ආයුස කාලයම/ මුළු ජීවිත කාලයම කැප කළා.

**ඒවම්පි සබ්බ භූතේසු මාන සං භාවයේ අපරිමාණං** - ඒ අපි වෙනුවෙන් ජීවිත කාලයම කැප කරල වෙහෙසෙන අපේ අමා මෑණි බුදු පියාණන් වහන්සේ උපමාවට අරගෙන, නුඹලත් සියළු ලෝක සත්වයන් කෙරෙහි අප්‍රමාණ මෙත් සිත වඩන්න. ඒ වගේම අප්‍රමාණ වූ මෙත් සිත පතුරුවමින් මානසම්භවයට හෙවත් ආර්ය මාර්ගයට පත් වෙන්න උත්සාහ කරන ඒ උත්තමයන්ගේ වැඩපිළිවෙළට හිංගි හිංසා කරන්නෙ නැතිව උදව් උපකාර කරන ගමන්, නුඹලත් ඔය විඳිමින් ඉන්න සසර දුකෙන් නිදහස් වෙන්න මේ ආර්ය මාර්ගයම වඩන්න.

**මෙත්තංච සබ්බ ලෝකස්මිං** - සියලු ලෝක සත්වයන් කෙරෙහි අමා මෑණි බුදු පියාණන් වහන්සේ දේශනාකොට වදාළ මෛත්‍රිය පතුරවන්න. මෛත්‍රී කිරීමේ ආකාර දෙකක් තියෙනවා. දැනට ලෝකයා කරන මෛත්‍රිය එකක්. ආර්යයෝ පතුරවන මෛත්‍රිය තව එකක්. ආර්යයෝ මේ සංසාරය දුක් බව දැකල, ඒ දුක හටගන්න හැටි පෙන්වල, ඒ දුකෙන් මිදෙන හැටිත් පෙන්වල, ඒ මග අනුගමනය කරල දුකෙන් මිදෙන්න අනෙක් අයටත් අනුසාසනා කරනවා. අන්න ඒක තමයි ආර්යන්ගේ අප්‍රමාණ මෛත්‍රී පැතිරීම වෙන්නෙ.

**මානසං භාවයේ අපරිමාණං** - සියළු ලෝක සත්වයෝ කෙරෙහි මේ මෛත්‍රිය පතුරුවන කොට අපරිමාණ මානසංභාවයේ ඉඳගෙනයි ඒකත් කළ යුත්තෙ. මොකක්ද මේ මානසංභාවයේ ඉන්නව කියන්නෙ? මේ ආකාරයට

ආර්ය මෙත් සිත පතුරුවන කොට, තමන්ගෙ හිත පැවතිය යුතු පිළිවෙළ මේ මානසංභාවයේ කියන තැන පවත්ව ගන්නයි උපදෙස් දෙන්නෙ. අපි කවුරුත් දන්න "හිත" කියන මුල්ම අවස්ථාව තමයි පාලි භාෂාවෙන් "චිත්ත" කියල හඳුන්වන්නෙ. මේ චිත්ත කියන තත්වය හිතක තියෙන්නෙ ලොව්තුරා බුදු, පසේබුදු, මහරහතන් වහන්සේලාට විතරයි. ඒක ධර්මයේ මේ විදිහට විස්තර කරල තියෙනවා.

පබස්සර මිදං භික්ඛවේ චිත්තං කියන තැනින් පටන්ගෙන චිත්ත, මනෝ, මානසං, ඊළඟට තියෙන්නෙ හදයං කියන අවස්ථාව. මේ පෙන්වන්නෙ අති පිරිසිදු වූ චිත්ත කියන අවස්ථාව ටිකෙන් ටික කහට ගැන්විලා කිලිටි වෙමින් හදයං අවස්ථාවත් පසුකරමින් යන හැටි. පිරිසිදුව තිබ්බ හිතේ හෙවත් චිත්තයේ කහට කුණු වැඩි වෙලා හදයං අවස්ථාවට ආවොත් මේ මෛත්‍රියට සුදුසු නෑ. මේ හදයං කියන තැනට පත්වුනොත් ලෝක සත්වයා සමගත් හදවතින් බැඳෙන්න පටන් ගන්නවා. හදයං කියන්නෙ හිතවත්කමට. මනස කවුරුහරි කෙනෙක් එක්ක හිතවත්කමකින් බැඳුනොත් ඔහුට මේ ලෝකය සමගත් මිත්‍ර ධර්මයක් හටගන්නවා. එහෙම කාත් එක්ක හරි මිත්‍ර ධර්මයක් හටගත්තොත් ඒක සංසනිකා දෝස සහිතයි. ඒ කියන්නෙ ඒ මිත්‍ර වෙච්ච කෙනා එක්ක එකතුවීම නිසා හිතේ වික්ෂිප්ත බවක් හටගන්නවා. මිත්‍රත්වයට කරන මෛත්‍රිය ඒ වික්ෂිප්ත බව නිසා පුද්ගලික ආවැඩීමක් බවට පත්වෙනවා. ඒ නිසා හදයං කියන තැනට පත්කර ගන්නෙ නැතිව, මානසංභවයෙන් ඉඳගෙන තමයි මේ ආර්ය මෛත්‍රිය පැතිරවිය යුත්තෙ.

මේ විදිහට මානසංභාවයෙන් යුතු කිළිටි නොවූ කරුණාවෙන් මෛත්‍රියෙන් යුතුව යමෙක් යමෙකුට උදව්වක් උපකාරයක් කරනව නම්, ඒ උපකාරය උපකාරයක් විදිහට කරනව මිසක්, ඉන් එහාට කිසිම පයිරුපාසානයක් (ඇසුරු කිරීමක්) ඇති වෙන්නෙ නෑ. ඇති කරගන්නෙත් නෑ. ඒ නිසාම සංසනිකා දෝසයෙන් නිදහස්.

**උද්ධං අධෝච තිරියඤ්ච අසම්බාධං අවේරං අසපත්තං**

මේ ආකාර මානසංභවයකින් සියළු ලෝක සත්වයන්ට මෙත් සිත පතුරවමින් නිවන් දකින්න මග පාදන්නා වූ කිසිවෙකුටත්, උඩින් යටින් හෝ වටින් කිසිම සම්බාධකයක් නොවේවා.



බාධා තියේනම් ඒ බාධා දුරු වේවා. ඔවුන්ට කිසිවෙක් වෛර නොකරාවා. වෛර කරන කරදර කරන කිසිවෙක් ඉන්නවනම් ඒ කරදර දුරු වේවා. මේ නිවන් මග වඩන්නා වූ කිසිවෙකුට කිසිවෙක් සාප නොකරාවා.

**තිට්ඨං චරං නිසින්නෝවා සයානෝවා යාවතස්ස විගත මිද්ධෝ** - මේ නිවන් මග වඩන සියල්ලෝම හිටගෙන ඉන්නකොට, ඇවිදිනකොට, ඉඳගෙන ඉන්නකොට, නිදනකොට කියන හතර ඉරියව්වෙදිම ඒ ඉරියව්ව පවත්වන මොහොතක් මොහොතක් පාසා මිද්ධයට පත් නොවේවා. මිද්ධයට පත් නොවී ඉන්නව වගේම, කර්මස්ථානය තුළම ඉඳගෙන පංච කාමයෙන් හා කර්මස්ථානයෙන් නැගිල එන ආස්වාදයට, උපක්ලේශයට ගැතිවෙන්න එපා. ආස්වාදයට ගැති වුණොත් මිද්ධයට ආහාර සැපයෙන නිසා මිද්ධය බලවත් වෙලා ආස්වාදය තුළ කම්මැලි වෙනවා. ඒ නිසා මිද්ධයට ඉඩ දෙන්න හොඳ නෑ. එහෙනම් විගත මිද්ධ කරන්න නම්, මීහරකට කන්න නොදී බල බිඳිනවා වගේ මිද්ධයට ආහාර වෙන ආස්වාදයට යටත් නොවෙන්න වග බලාගන්න.

**ඒතං සතිං අධිට්ඨෙය්‍ය බ්‍රහ්ම මේතං විහාරං ඉධමාහු** - මෙන්න මේ ආකාරයෙන් කම්මැළි වෙන්නෙ නැතිව, හැම මොහොතක් පාසාම කර්මස්ථානය තුළම ඉඳිමින් සතියෙන් කාලය ගත කරන්න අධිෂ්ඨාන කර ගන්න. මේ ආකාරයෙන් සතියෙන් කාලය ගතකිරීමට බ්‍රහ්ම විහාරය කියල කියනවා. ඒ තමයි ආනාපානාසති භාවනාවට කියන තවත් නමක්.

**දිට්ඨිංච අනුපගම්ම සීලවා දස්සනේන සම්පන්නෝ** - මේ එක එක මිථ්‍යා දෘෂ්ටිවලට අහුවෙලා අවිද්‍යාවෙන් දෘෂ්ටිගත වෙන්නෙ නැතිව, මේ සැනසෙන දහම දැකල ආර්ය ගුණයෙන් සීලනය වෙලා දර්ශන සම්පන්නයෙක් කියන ඇත්ත දකින කෙනෙක් වෙන්න.

**කාමේසු විනෙය්‍ය ගේධං නහි ජාතු ගබ්භසෙය්‍යං පුනරේතීති** - සියලු කාම ධර්මයන්ගෙන් වෙන්වෙලා සසර ගමන නමැති භයානක ගමනින් නික්මිලා නැවතත් ගර්භවාසයයි කියන සසර ගැබට එන්නෙ නැතිව නික්මෙන්න.

මේ තමයි ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමක් අර වෘක්ෂ දේවතා, යක්ෂ, ප්‍රේත, භූත, පිසාච වගේ අසරණ තත්ත්වයට පත්වෙලා ඉන්න, අපේ ඇහැටවත් පේන්නෙ නැති ලෝකයාගේ ශාන්තිය වෙනුවෙන් ඔවුන්ටත් අභිසමයට හෙවත් නිවනට පත්වෙන්න ඉතාම සරල කෙටිම මාවතක් පහදා දුන්න ආකාරය. උන්වහන්සේ මේ පන්සියයක් භික්ෂූන්ට ඒ කැලෑවටම යන්න කියල නියම කරල ආපසු යැව්වෙත්, ඒ මාර්ගයෙන් ඒ අසරණ අමනුස්සයන්ටත් පිහිට වෙන්න මග පාදා දෙන්න බව සනාථ වෙන්නෙ, ඒ පන්සිය දෙනා ඒ වන සෙනසුනටම නැවතත් පිටත්කර හැරිය නිසා.

විදර්ශනාමය ලෝකෝත්තර ගැඹුරු ධර්මයක් විග්‍රහ කෙරෙන මේ සූත්‍රය, විදර්ශනාවට පාදක කර ගන්න පුළුවන් ආකාරයට විග්‍රහ කිරීම, බුදුන් වහන්සේගේ නිර්මල ධර්මය තුළින් තමන්ගෙ ජීවිත විමුක්තිය සලසා ගන්න කැමති බොහෝ දෙනාට වඩාත් ප්‍රයෝජනවත් වේවි. ඒ නිසා මේ කරණීයමත්ත සූත්‍රයේ අදහස කොහොම තේරුම් ගන්න ඕනද? නිවන් සඳහා වඩන හැම කර්මස්ථානයක්ම ඒ කාර්ය සිද්ධිය ඉෂ්ට සිද්ධ කර ගන්න නම් විවේක නිශ්‍රිතව, විරාග නිශ්‍රිතව, නිරෝධ නිශ්‍රිතව, වොස්සග්ග පරිණාමීව හෙවත් නිවනටම නැමීමෙන් යුතුව වැඩිය යුතු බව සංයුක්ත නිකායේ බොහෝ සූත්‍රවල දක්වා තියෙනවා.

මේ මෛත්‍රී කර්මස්ථානයෙදි, දිට්ඨිංච අනුපගම්ම සීලවා... යනාදී වශයෙන් පෙන්වූ ආකාරයට දෘෂ්ඨිගාමී වෙන්නෙ නැතිව නියම මෛත්‍රිය මොකක්ද කියල පළමුව වටහා ගන්න ඕන. බිය නැතිව, සැපවත්ව, සුව සිතින්, ගැටීමක් කෝප කරගැනීමක් නැතිව මුදු මොලොක් හිතින් සමගියෙන් සියලු සත්වයෝ ජීවත් වෙනව නම් කොච්චර හොඳද කියල ලෞකික සුවයක් ලබා දෙන්න හිත පිහිටුවල කරන සිතීම් හා කියමන් තියෙන පිංවතුන්ට, ආර්ය මෛත්‍රී ධර්මය නිසි ආකාරයෙන් වැටහිලා තියෙනවද කියල බලන්න ඕන.

පැවැත්මක් පරමාර්ථ කරගෙන පසිඳුරන්ට ගෝචර වන කාම රාගයන් සහිත වින්දනයක් ලබමින්, සාමූහිකව සතුටු ජීවිතයක් ගතකරන මගක් ලෝ සතුන්ට ලැබේවා කියල පතනවද, වචනයෙන් කියනවද, ක්‍රියාවෙන් අනුකූලව කටයුතු කරනවද, ඒක සංසනිකා නිශ්‍රිතයි, රාග නිශ්‍රිතයි, පැවතුම් නිශ්‍රිතයි, සංසර්ග පරිණාමී වෙනවා. නිවන් මගට අහසට පොළොව වගේ දුරස්තරයි.

අංගුත්තර නිකායේ මාරධීතු සූත්‍රයේදී තණ්හා මරගන බුදු රජාණන් වහන්සේගෙන් මෙහෙම අහනවා. ස්වාමීනි, ඔබ වහන්සේ ලෝකයා සමග අමනාපද? ලෝකයා ඔබ වහන්සේ සමග අමනාපද? මුදලක් අරගෙන පැරදුනාද? කුමක් නිසා හුදෙකලාව ඉන්නවද? එතකොට බුදුපියාණන් වහන්සේ, මම දත යුතු ධර්මාවබෝධය පූර්ණ කරගෙන මාර්ගඵල සංඛ්‍යාත වූ ඵල ශාන්තියෙන් හුදකලාව වාසය කරනවා, පහන් සිතින් දහම් දෙසා සත්වයන් භව කතරින් එතෙර කරවන මට කවර නම් ඊර්ෂ්‍යාවක්ද, එයම මෛත්‍රියයි කියල මෛත්‍රියේ ස්වභාවය පෙන්වා දෙනවා.

ඒ වගේම අංගුත්තර නිකායේ සක්ක සූත්‍රයේ සක්ක යක්ෂයා විසින් මෙහෙම අහනවා. ලෝකයා සමග මිත්‍රත්වයක් නැත්නම්, කටයුතු සියල්ල සිදු කරල අවසාන නම්, ලෝකයාට දහම් දෙසන්නෙ ඇයි? ඒක මිත්‍රකම් පැවැත්වීමක් නෙවෙයිද? ඊට පිළිතුරු දෙන බුදුන් වහන්සේ, එම්බා සක්ක ලෝකයා සමග පවත්වන මිත්‍ර ධර්ම නම් සංසර්ග දෝස සහිතයි, ප්‍රඥාවන්තයෝ ඒවා කෙසේවත් අනුමත කරන්නෙ නෑ, නමුත් පහන් සිතින් අනුන්ට අනුසාසනා කරනවද, එයින් මිත්‍ර ධර්මයක් හටගන්නෙ නෑ, එයම නියම දයාවයි, කරුණාවයි, අනුකම්පාවයි කියල උත්තර දෙනවා.

මේ අනුව ආර්ය විනයේ දයාව, අනුකම්පාව, කරුණාව කියන්නෙ විරාග නිශ්‍රිතව නිරෝධ නිශ්‍රිතව නිවනට නැමුනු සිතින් කරන අනුසාසනා බවත්, ඒ අනුසාරයෙන් කරන කටයුතු ඒ ආර්ය මාර්ගය වැඩෙන රටාව බවත් තේරුම් ගන්න පුළුවන්.

ඉහත කිව්ව විදිහට, සුඛිනෝවා ඛේමිනෝ හොන්තු... ආදී වශයෙන් කියවෙන ආකාරයට සිහි කරන්නත් භාවිතා කරන්නත් පෙර, මේ ආර්ය විනයේ සැප මොකක්ද, දුක මොකක්ද, බය මොකක්ද, නිර්භය මොකක්ද, රෝගය මොකක්ද, නිරෝගය මොකක්ද... යනාදිය බුද්ධ භාෂිත පෙළ දහම තුළින් විමසල දැනගන්න ඕන. <u>(ඛුද්දක නිපාතයේ පටිසම්භිදා ප්‍රකරණ විදර්ශනා කතා)</u>

පංචස්කන්ධය දුකක් ලෙස, රෝගයක් ලෙස, බයක් ලෙස, ගින්නක් ලෙස, ශෝකයක් ලෙස, දාහයක් ලෙස... මේ විදිහට හතළිස් ආකාරයකින් දකිනකොට අනුලෝම ශාන්තියට පත්වෙන බවත්, නිවන නිදුකක් ලෙස, නිරෝගී ලෙස, නිර්භය ලෙස, සුවයක් ලෙස, නිස්සෝක ලෙස... ආදී හතළිස් ආකාරයකින් දැකීමෙන් සම්මාත්ව නියාමයට හෙවත් ආර්ය ඵලයට පත්වෙන බවත් දේශනා කරල තියෙනවා.

ඒ අනුව "සුඛිනෝවා ඛේමිනෝ හොන්තු" කියන වචන කියවෙද්දි, මේවා නිවනට කියන පර්යාය නාම බව දැනගෙන සිහි කරමින්, එසේ වූ නිවන සියලු සත්වයන්ටම අත්වේවා කියන හැඟීමෙන් යුක්තව මෙත් වඩන්න ඕන. එතකොට විරාග නිශ්‍රිත වෙනවා, විවේක නිශ්‍රිත වෙනවා, නිරෝධ නිශ්‍රිත වෙනවා, වොස්සග්ග පරිණාමී වෙනවා. ලෝකයේ පැවැත්ම දුකක්, රෝගයක්, බයක්, ගින්නක් විදිහට වැටහෙමින් ආදීනව දැකීමෙන් නොඇල්ම වෙනවා, මිදීම වෙනවා. නිවන නිදුකක්, නිරෝගයක්, සුවයක්, ශාන්තියක් ලෙස වැටහෙමින් මගඵල අවබෝධ වෙනවා.

මේ භාවනාව පටන් ගන්නකොට "කරණීය මත්ත කුසලේන" කියල නිවන් දකින්න කළ යුතු කුසලය මොකක්ද කියල බුදු පියාණන් වහන්සේ අසා වදාරනවා. මෙතැනදි, ශාන්ත පදනම් වූ නිවනට පැමිණීමට කුමන කටයුතු කළ යුතුද කියනවට වඩා, කුමන කුසලයක් කළ යුතුද කියල අර්ථ ගත්තම "දිට්ඨිංච අනුපගම්ම සීලවා" කියන විශේෂත්වය ලබන්න හේතුවන බව පේනවා. කුසලය කියන්නෙ "කෙබඳු වැඩපිළිවෙළක්ද" කියල වටහා ගත්තම, වැඩිය යුත්ත හොඳින් වැටහෙනවා. සුත්ත නිපාත <u>(බුද්ධ ජයන්ති ග්‍රන්ථ මාලා 25-159 පිටුව.)</u>

## පෙළ දහමින් කුසලයට නිදසුනක්.

කෝසානි විචෙය්‍ය කේවලානි දිබ්බං මානුසකංච බ්‍රහ්ම කෝසං සබ්බ කෝසමූල බන්ධනා පමුත්තෝ කුසලෝතාතී පවුච්චතෝ තථත්තා.

දිව්‍ය කෝෂ, මනුස්ස කෝෂ, බ්‍රහ්ම කෝෂ... ආදී වූ සකලවිධ කර්ම කෝෂ පිළිබඳව හා ඒවාට හේතු කාරක වූ අවිද්‍යා භව තෘෂ්ණා ආදියේ පහවීමක් ඇත්ද, ඒකට කුසලයයි කියල කියනවා.

මේ විදිහට අපේ ජීවිතයට සාස්තෘත්වය සපයපු තථාගත බුදු පියාණන් වහන්සේගේ ධර්මය නිසියාකාරයෙන් දැනගෙන, ධර්මානුධර්ම ප්‍රතිපදාව වැටහුණාම සසර දුකක් බවත්, ගින්නක් බවත් වැටහෙමින්, මේ මහා අගාධයට වැටිල සසර සැරිසරන අනන්ත සත්වයෝ අනාථයන් විදිහට වැටහෙමින්, මේ අනාථ භාවයෙන් ගොඩයන්න නම් කවද හරි අමා මෑණී බුදු පියාණන් වහන්සේගේ එකම පුතා වන අරිහතුන් වහන්සේ නමක් බවට පත් විය යුතු බවත් වටහාගත යුතුයි.

මේ තතු දැනගත් අමා මෑණී බුදු පියාණන් වහන්සේ, සත්ත්වයා දුකින් මුදවගෙන අරිහත් බවට පත්කරන්න පතුරුවන්නා වූ මෙත්තාවක් තියෙනවද, මෛත්‍රී සිතින් කරන අනුසාසනාවක් තියෙනවද, ආදර්ශවත් වූ ක්‍රියාවක් තියෙනවද, උන්වහන්සේගේ දරුවෙක් විදිහට මමත් ඒ බුදු පියාණන් වහන්සේගේ ආදර්ශය අත් නොහැරම, ඉවත නොදමා, යහපත් දරුවෙක් විදිහටම අප්‍රමාණ වූ මෙත් සිත නොමඳවම පතුරුවනවා කියල අධිෂ්ඨාන කරගත යුතුයි. නුවණැත්තෝ විමසා බලා නිවන් සුවය ලබත්වා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නිතිඥ චන්දන සිරිවර්ධන**



# සියලු ජය ලබාදෙන, නිවන් ජයෙන් කෙළවර වන උතුම් ගාථා රත්නයක අරුත විමසමු...

**ජයෝ මුනින්දස්ස සුබෝධි මූලේ**
**අහෝසි මාරස්ස පරාජයෝහි**
**උග්ඝෝසයුං දේවගණා පසන්නා**
**ඒතේන සච්චේන සුවත්ථි හෝතු**

සම්මා සම්බුදු පියාණන් වහන්සේ ජයසිරි මහා බෝධි මූලයේදී සියලු මාර සෙනග පරාජය කරල ජය ගත්තා. ඒ බව දැකල ප්‍රසාදයට පත්වෙච්ච දෙවි දේවතා පිරිස මහා ජය ඝෝෂාවක් කළා. ඒ සත්‍යයේ බලයෙන් සුවයක්, යහපතක්ම සිද්ධ වේවා! මේ විදිහට පොදුවේ කියන්නත් පුළුවන්. ඒ සත්‍යයේ බලයෙන් ඔබට (අනුන්ට) ජය වේවා! (ඒතේන සච්චේන ජයස්සු තුයිහං!) එහෙම නැත්නම්, ඒ සත්‍යයේ බලයෙන් මට ජය වේවා! (ඒතේන සච්චේන ජයස්සු මයිහං!) කියල තමන්ටම කියා ගන්නත් පුළුවන්. මේ මොන විදිහකට හරි ගාථාව තුන් වරක් කිව්වම ඒ ආශිර්වාදය සම්බන්ධ වෙනවා.

මේ අර්ථයත් සමග ඉහත ගාථා රත්නය ඔබ හැම දෙනාම කියවල අහල ඇති. ඉතා සරලව ශබ්ද නගල සජ්ඣායනා කරන්න පුළුවන් මේ ගාථා රත්නය මහා බල සම්පන්න ගාථා රත්නයක් බව බෞද්ධ ජනතාව පොදුවේ දන්නා කරුණක්. දුටුගැමුණු රජතුමාත් බොහෝ වැඩ කටයුතු සාර්ථක කර ගන්න මේ ගාථා රත්නය භාවිතා කළා කියල සඳහන් වෙනවා. ඒ වගේම නිතර අහන්න ලැබෙන, බහුලව භාවිතා කරන ආරක්ෂක ගාථා රත්නයක් විදිහටත් ප්‍රසිද්ධයි. කෙටි වගේම පහසුවෙන් නිවැරදිව උච්චාරණය කරන්න පුළුවන් නිසා මේ ගාථා රත්නය 108 වරක්, 1008 වරක්... ආදී වශයෙන් පිරිත් කර ගැනීම සඳහාත් බහුලව භාවිතා කරනවා.

මොන ගාථාවක් වුණත් අර්ථය දැනගෙන භාවිතා කරන කොට ඒකෙන් ලැබෙන බලය, ශක්තිය අති විසාල ගුණයකින් වැඩි වෙනව කියල අපි අහල තියෙනවා. අර්ථය දැනගෙන ගාථාව සිහි කරන කොට, සජ්ඣායනා කරන කොට ඥාන සම්ප්‍රයුක්තව කෙරෙන කාය, වචී, මනෝ සංඛාර වශයෙන් අති ප්‍රබල පුණ්‍ය කුසල විපාක ජනිත කරන්නත්, ශරීරය වටා බැඳිල තියෙන කළු කිරණ, ඇස්වහ කටවහ දෝස, අණවින කොඩිවින, හදි හූනියම්, ස්ථාන දෝස, භූමි දෝස, ග්‍රහ දෝස, අමනුස්ස දෝස... ආදිය ඉවත් වෙලා, නරක සමනන්තර මග හැරිල යන්නත් හේතු වෙන බව ධර්මය ගවේෂණය කරන කෙනෙකුට හොඳින් පැහැදිලි වෙන කරුණක්.

මේ ගාථා රත්නය තුළ මේ තරම් බලගතු වටිනා ශක්තියක් ගැබ් වෙලා තියෙනව නම්, ඒ ගැන ඥාන සම්ප්‍රයුක්තව අරුත් දැනගෙන භාවිතා කිරීමෙන් කොතරම් ආශ්චර්යමත් ප්‍රතිඵල අත්කර ගන්න පුළුවන්ද කියල ටිකක් විමසා බැලීම වටිනවා. අර්ථය දැනගෙන නිතර සජ්ඣායනා කිරීමෙන්, එදිනෙදා වැඩ කටයුතු අරඹන්න පෙර සිහි කිරීමෙන්, නිවසින් පිටත් වෙන කොට සිහි කිරීමෙන්... මේ ආදී වශයෙන් සුළු උත්සාහයකින් පවා මහා යහපතක් ශාන්තියක් ජයග්‍රහණයක් අත්කර ගන්න පුළුවන්. දැන් නැවතත් මේ ගාථා රත්නය විමසා බලමු.

"ඒතේන සච්චේන සුවත්ථි හෝතු" වශයෙන් භාවිතා කරල තියෙන්නෙ, මේ සත්‍යයේ බලයෙන් සුවයක් යහපතක් වේවා කියන කාරණය නම්, ඒක බැලූ බැල්මටම සත්‍යක්‍රියාවක් බව පේනවා. සත්‍යක්‍රියාවක් කියන්නෙ බෞද්ධයාගේ ප්‍රධානතම ආයුධයක්. අවබෝධයට පත් සැදැහැවත් බෞද්ධයාට සියලු කරදර බාධක දුරු කරල, සියලු ජය සෙත ශාන්තිය සඳහා සත්‍යක්‍රියාව ප්‍රබල උපකාරයක් වෙනවා. හැබැයි එහෙම සත්‍යක්‍රියාවක් කරන්න නම් තමන්ගෙ මනසට ප්‍රත්‍යක්ෂ වශයෙන් වැටහුණු සත්‍යයක් තිබිය යුතුයි. සත්‍යය වැටහිලා තියෙන තරමේ ප්‍රබලත්වය අනුව ප්‍රතිඵලත් ප්‍රබල වෙනවා. එහෙනම් මේ ගාථා රත්නයේ මොන සත්‍යයක් සිහි කරල සත්‍යක්‍රියාව සිද්ධ කරනවද කියල විමසල බලන්න ඕන.

සිදුහත් මහ බෝසතාණන් වහන්සේ ලොව්තුරා සම්මා සම්බුද්ධත්වයට පත් වෙච්ච බව සත්‍යයි. උන්වහන්සේ බුද්ධත්වයට පත්වීම සඳහා දස බිම්බරක් මාර සේනාව සමග වසවර්ති මාරයා පරාජය කළ බව සත්‍යයි. මහ බෝසතාණන් වහන්සේගේ එක රෝම කූපයකටවත් හානියක්

සිද්ධ කර ගන්න බැරිව පැරදුන මාරයා තමන්ගෙ සේනාව සමග පලා ගිය බව සත්‍යයි. ඒ විදිහට සම්මා සම්බුද්ධත්වය සාක්‍ෂාත් කළ අති උතුම් මොහොතේ මහ පොළවටත් දරා ගන්න බැරිව මහ පොළව ඇතුළු දස දහසක් සක්වළම කම්පා වී ගිය බව සත්‍යයි. ඒ මොහොතේ අනන්ත සත්ව පිරිසක් සතර අපායෙන් නිදහස් වෙලා සුගතිගාමී වෙලා මහා ශාන්තියක් විශ්වයට මුදා හැරුන බව සත්‍යයි. කිසිදාක ආලෝකයක් නොපවතින්නා වූ නියත මිත්‍යා දෘෂ්ටික පිරිස්වලට උරුම වූ සදා අන්ධකාරය තියෙන අති භයානකම, අති දීර්ඝම ආයුස තියෙන ලෝකාන්තරික මහා නරකයත් ඒ බුදු වෙන මොහොතේ ආලෝකමත් වුණ බව සත්‍යයි. කිසිදාක ගිනි නොනිවෙන්නා වූ හැමදාම හැමවිටම දැවෙමින් පිළිස්සෙමින් තියෙන අවීචි මහා නරකාදියෙත් ගිනි, ඒ උතුම් මොහොතේ නිවී සිසිල් වෙලා ගිය බව සත්‍යයි. සසර දුක් ගිනි කඳින් මිරිකිලා වෙහෙසිලා ඉන්න අසරණ ලෝක සත්වයාට නිවන් මග කියා දෙන මහා ගුරු උතුමෙක් පහළ වුන බව සත්‍යයි. අමා මහ නිවන් ශාන්තිය ලෝක සත්වයාට එළිපෙහෙළි වුන බව සත්‍යයි.

මේ සත්‍යය/ සත්‍ය සිදුවීම දකින්න පුළුවන් දේව පිරිස, ඒ කියන්නෙ සියලු අපායන් දකින්න පුළුවන් පිරිස ඒ සිදු වන යහපත ප්‍රත්‍යක්ෂ වශයෙන්ම දකිනවා. දුක් විඳින සත්වයන්ට සැනසුම පහළ වෙන හැටි දැකීමෙන්ම ඒ සත්‍යය ප්‍රත්‍යක්ෂ කර ගන්නවා. මාර සේනාව පරාජය වෙලා පලා යනවා දැකීමෙන්ම ප්‍රත්‍යක්ෂ වශයෙන්ම බිය පහ වෙනවා. මාරයාට බය වෙලා ඉන්න ඕනෑම කෙනෙකුට, මාරයා සේනාවත් සමග තනියෙන් පරාජය කරන උතුමෙක් දැක්කම සතුටු සිත් ඇති වෙනවාමයි. එහෙනම් එබඳු පිරිස ජය ඝෝෂා නගමින් සතුටුවීම අරුමයක් නෙවෙයි. ඒ සත්‍යය ඉතා පැහැදිලියි. ඒ මහා සත්‍යයේ බලයෙන් සෙතක්, ශාන්තියක්, ජයග්‍රහණයක් වේවා කියන්නෙ, ඉතා ප්‍රබල සත්‍යයක් උපකාර කරගෙන කරන්නා වූ සත්‍යක්‍රියාවක්. එයින් ජනිත වන ශක්තිය ඉතා ප්‍රබල ඉතා විශිෂ්ට ගණයේ ශක්තියක්. එයින් සිදුවන යහපතත් ඉතා ප්‍රබල විශිෂ්ට ගණයේ යහපතක්ම විය යුතුයි. මේ විදිහට සිහි කිරීමෙන්, නිතර භාවිතා කිරීමෙන් ලබන ජය සුළු පටු නෙවෙයි. අපි සියලු දෙනාටම ලෞකික සියලු අවස්ථාවලදී වගේම අවසානයේ ප්‍රබලම සටන වන පංච මාරයන් සමග සිදු කරන සටනින් ජයග්‍රහණය ලබන්නත් උපනිශ්‍රයක්ම වෙනවා.

හැබැයි ඒ යහපත එතැනින් අවසන් වෙන්නෙ නෑ. මීටත් වඩා ගැඹුරට ගිහින් මේ ගාථා රත්නය ලෝකෝත්තර අර්ථයෙන් විග්‍රහ කරගන්න පුළුවන් නම් මහා විදර්ශනාවකුත් කර ගන්න පුළුවන්. අසුරු සැණක් ගහන මොහොතකින් සිදු කරන්නා වූ විදසුනකිනුත් මහත් ඵල මහානිසංස මහා යහපතක් සිද්ධ වෙනව නම්, මේ ගාථා රත්නය අර්ථ දැනගෙන විදර්ශනා කළොත් නියත වශයෙන්ම මහත් ඵල මහානිසංස මහා යහපතක් අත්කර ගන්න පුළුවන්. එහෙනම් මේ සම්මත අර්ථයට එහා ගිහින්, මේ වටිනා ගාථා රත්නය ලෝකෝත්තර අර්ථයෙන් දැනගෙන වැඩ සලසා ගන්නෙ කොහොමද කියල ටිකක් ගැඹුරට විමසල බලමු.

මුනින්දස්ස, මාරස්ස කියන පදවලින් අයිතිය හැඟවීමක් අදහස් කෙරෙනවා. ජයෝ මුනින්දස්ස – මුනීන්ද්‍රයාණන් වහන්සේගේ ජයග්‍රහණය. මුනින්ට අග්‍ර වූ අග්‍ර මුනි (සියලු මුනිවරුන්ට මුනිඳු වූ අග්‍ර මුනි) හෙවත් සම්මා සම්බුදු අමා මෑණියන් වහන්සේ විසින් අත් කර ගන්නා ලද ජයග්‍රහණය. මාරස්ස පරාජයෝහි – මාරයාට අයිති පරාජය. මුනින්ද්‍රයන් වහන්සේ ජයග්‍රහණය ලබන්නෙ මාරයාට පරාජය අත් කර දීමෙන්. සම්මත අර්ථය අනුව, දේව පුත්ත වසවර්ති මාරයා දස බිම්බරක් මාර සෙනග සමග ඇවිත් මහ බෝසතාණන් වහන්සේ බුද්ධත්වයට පත්වීම වලක්වන බලාපොරොත්තුවෙන් නොයෙක් දෑ කළත්, ඒ සියල්ල අසාර්ථක වෙලා බලාපොරොත්තු සුන් වෙලා නැවත හැරිල යනවා.

පරමාර්ථ වශයෙන් තවත් ගැඹුරට බැලුවොත්, වසවර්ති මාරයා විතරක් නෙවෙයි, පස් මරුන් (පංච මාරයන්) විසින්ම සසරට, භවයට බැඳ තබන ස්වභාවය අහෝසි කරමින් සහමුලින්ම භවය උදුරා දමා මහ බෝසතාණන් වහන්සේ ජයග්‍රහණය කළා. පස්මරුන්ටම පරාජය අත් වුනා. සසර පැවැත්ම වැලකිලා ගියා. බුද්ධත්වය පසක් කරගෙන සියලු රාග ද්වේශ මෝහ සහමුලින් නිරෝධ කළ මොහොතෙම ස්කන්ධ මාර, අභිසංඛාර මාර, දේව පුත්‍ර මාර, මච්චු මාර, ක්ලේෂ මාර යන පස් මරුන් නිසාම බියට පත් ගැනීමට, ආස්වාද මූලාවට, ආස්වාද මර උගුලට අහුවීම සඳහටම වැළකිලා ගියා.

එහෙනම් පරමාර්ථ වශයෙන් "මාරස්ස පරාජයෝහී" කියන්නෙ මේ පස් මරුන් නිසා හට ගන්නා රාග, දෝස, මෝහ තුලින් පරාජයට පත්වීම. මොහොතින් මොහොත මේ ඉන්ද්‍රියන් හය තුලින් අරමුණු හරහා මුලාවට පත්වෙලා පරාජයට පත්වීම. මොහොතින් මොහොත සුඛ වේදනා සාර ලෙස ගනිමින්, දුක් වේදනා මග හරින්න ගැටෙමින් අත්වන පරාජය. මොහොතින් මොහොත ඇසේ රැවටීමට, කනේ රැවටීමට, නාසයේ රැවටීමට, දිවේ රැවටීමට, කයේ රැවටීමට, හිතේ රැවටීමට ලක්වෙලා නැවත නැවතත් ජයක් නැති තැනක ජය තියෙනව කියල හිතාගෙන වෙහෙසෙමින් පරාජයට පත්වීම. නිසරු දෙයක් වන ආස්වාද සැප සරු විදිහට දැකල භුක්ති විඳිමින් රිසි සේ ලබන්න, රිසි සේ පවත්වගන්න ගිහින් පරාජය වීම. මාරස්ස පරාජයෝහි – මේ ආස්වාද මර උගුලේ හිරවෙලා පරාජයට පත් වෙනවා.

ජයෝ මුනින්දස්ස සුබෝධි මූලේ – යහපත් වූ බෝධිය. යහපත් නම් නිවනමයි. එතකොට සුබෝධි කියන්නෙ නිවන් දැකීම හෙවත් භවය උදුරා දැමීම. එහෙනම් සුබෝධි මූලේ කිව්වම හැඟෙන්නෙ, භවයේ මුලටම ගිහින් සියල්ල සිඳ දැමූ බව. වාසනා සහිත (වාසය කිරීමේ න්‍යාය නිසා හට ගත්) සකල ක්ලේෂ නිරෝධ කරමින් බුද්ධත්වයට පත්වීම නිසා ලබපු අසමසම ජයග්‍රහණය "ජයෝ මුනින්දස්ස සුබෝධි මූලේ" කියල ගාථාවට නැගෙනවා.

අහෝසි මාරස්ස පරාජයෝහී – පස් මරුන් වෙතින් පරදින්න තියෙන සියලු හේතු නිරෝධ කර දැමීම. ඒ නිසා පස් මරුන්ට පරද්දවන්න බැරි වෙනවා. මෙතැනදි "අහෝසි වීම" විශේෂයි. එහෙම නැත්නම් "විනාස මාරස්ස පරාජයෝහී" කියල ගන්න තිබුණා. මාරයන් අතින් පරාජයට පත්වෙන්න තියෙන හේතු විනාස කරමින් නෙවෙයි, හේතු අහෝසි කරමින් ජය ගත්තා කියල විශේෂයෙන් කියන්නෙ ඇයි? මාරයන් වෙතින් පරාජය වීම තමයි ඵලය. ඒක විනාස කරන්න උත්සාහ කරල වැඩක් නෑ, හේතුවයි නිරෝධ කළ යුත්තේ. ඵලය සමග ගැටීම නිෂ්ඵලයි. "සබ්බ රෝග විනස්සතු – සබ්බ භය විනස්සතු" වශයෙන් විනාස කරන තැනුත් සඳහන් වෙනවා. නමුත් අහෝසි කිරීමේ විශේෂත්වය මොකක්ද? "අහෝසි මාරස්ස පරාජයෝහී" කියන්නෙ, මාරයන් අතින් නැවත

පරාජයට පත්වෙන්න කවදාවත් සිද්ධ නොවීම. මාරයන්ට පරාජය කළ නොහැකි තත්වයට පත්වීම. ඒ කියන්නෙ මාරයන්ගේ බලපෑම් සහිත සියලු ධර්ම නැවත කිසිදාක නූපදින තත්වයට පත්වීම. තවත් විදිහකින් කියනව නම් මාර ධර්ම හෙවත් රාග, ද්වේශ, මෝහ නැවත උපදින්නෙ නැති තත්වයට පත්වීම. ඒ කියන්නෙ පරාජයට හේතු නැති කළ බව. තවත් විදිහකින් කියනව නම් රාග, දෝස, මෝහ කියන හේතුන්ගෙන් හට ගන්නා වූ සියලු මාර ධර්ම අහෝසි කළ බව.

කිසිම මාර ධර්මයක් නැවත ඉපදෙන්නෙ නැත්නම් නම්, උදා වෙන්නෙ නැත්නම්, මාරයන් සමග යුද්ධයක් නෑ. එතකොට මාරයන්ගෙන් පරාජයක් කොහොම එන්නද? පරාජයට හේතු නැති කළාම පරාජය වෙන්න යුද්ධයක් පවතින්නෙ නෑ. ඒ සියල්ලම අහෝසි වෙලා ගියා මිසක් අඩුම තරමින් දේව පුත්ත මාරයා සමග සටන් කරල පරාජය කළා හෝ ස්කන්ධ මාරයා සමග හෝ ක්ලේෂ මාරයා සමග හෝ මච්චු මාරයා සමග හෝ සටන් කළා හෝ ඒ වගේ සටනක් පවත්වල ජයග්‍රහණය කරල මාර සේනාව මරා දාල ජයග්‍රහණය කළා හෝ නෙවෙයි. දේව පුත්ත මාරයාට පරදින්න තිබිච්ච හේතු නිරෝධ කළා. ස්කන්ධ මාරයා වෙතින් සසරේ නැවත කවදාවත් පරදින්න හේතු නෑ. ක්ලේෂ මාරයා වෙතින්, මච්චු මාරයා වෙතින් මේ කිසිම ආකාරයකින් පරදින්න, රැවටෙන්න, මුලාවෙන්න හේතු ඉතිරි කළේ නෑ. නැවත හේතු හටගන්න තත්වයට කවදාවත් පත්වෙන්නෙ නෑ.

මේ සියල්ල නිරෝධයට පැමිණීම හෙවත් ඒවා හට ගන්න හේතු වන මූලයන් සහමුලින්ම ගලවා ඉවත් කිරීම නිසා, මාර ධර්ම සියල්ල සහමුලින්ම නිරෝධ කළ නිසා, පරාජය වෙන්න හේතු කිසිවක් නැති වුණා. යුද්ධ කරන්නත් හේතු නැති වුණා. මාරයන්ගේ භූමියෙන් ඉවත් වෙලා මාරයන්ට අත තියන්න බැරි තත්ත්වයට පත් වුනා. මාර බලපෑම් අහෝසි වුනා. සම්මා සම්බුද්ධත්වයට පත්වීම නමැති, සියලු භවය සහමුලින්ම උදුරා දැමීමේ මහා මුනි ජයග්‍රහණය නිසා මාරයාගේ ග්‍රහණයට හේතු නැති වුණා. ආස්වාද මර උගුලට අහුවෙන්න හේතු නැතිවෙලා සියලු මාර සේනාවන්ගෙන් අත්වන පරාජයන් අහෝසි වුණා.

උග්ඝෝසයුං දේවගණා පසන්නා - යමෙක් බුදු දහම මොකක්ද කියල වටහා ගත් සැණින් මහා චිත්ත ප්‍රසාදයකට පත්වෙනවා. ඒකට හේතුව තමයි, ලෝකයේ දාහයත් නිවනේ ශාන්තියත් පැහැදිලිව දැකගැනීම. ඒ විදිහට නිවනේ ශාන්තිය දැක ගැනීම කියන්නෙ මාර බලපෑමෙන් මිදීමේ වටිනාකම දැනගැනීම. ඒ විදිහට දැකගත්, දැනගත් ජනයා මාර බලපෑමෙන් මිදෙන හැටි දැකල, මිදුන පමණට මහා සුවයකට, ප්‍රසාදයකට පත්වෙනවා. මේ පංච මාරයෝ මොන තරම් භයානකද, ඒවායින් මිදීම මොන තරම් ජයක්ද, මොන තරම් සතුටක්ද, මේ සතුට මා කෙරෙහි මෙහෙම නම් සම්මා සම්බුදු පියාණන් වහන්සේලා ස්වයංභූ ඥානයෙන් සියල්ල මනා සේ අවබෝධ කර ගන්න කොට මොන තරම් සැනසීමක්, සුවයක්, ප්‍රසාදයක්, ශාන්තියක් අත්වෙනව ඇත්ද, මොන තරම් දුකකින් මිදෙනව ඇත්ද කියල, ඒ වගේ ජනයා හෙවත් දහම් දුටු පිරිස, නිවන් දුටු පිරිස මේ විදිහට හිතන මොහොතක් මොහොතක් පාසා මහා ජය ඝෝෂාවක්, සාදු නාදයක්, සිත කය වදන පසාරු කරමින් දැනගන්නවා.

එහෙනම් පෙර සිද්ධ වෙච්ච සිදුවීමක් විදිහට නෙවෙයි, අද මේ මොහොතෙදි වුනත් යමෙක් දහම දැක්ක නම්, නිවන දැක්ක නම්, ලෝකයේ අසාරත්වය සහ නිවනේ සාරත්වය දැක්ක නම්, ඒ මොහොතේම ඔහුගේ සිත මහා මුනින්ද්‍රයන් වහන්සේ විසින් පසක් කරමින් ලබා දුන්නා වූ ඒ දහම් ආලෝකය නිසා මහා ප්‍රීති ඝෝෂාවකට පත්වෙන බව සත්‍යයි. දකින දකින දහම් කරුණක් පාසා මහා ජය ඝෝෂාවක් සිත තුල ඇතිවන බව සත්‍යයි. තමන් තුල විතරක් නෙවෙයි, අනුන් තුලත් එසේ ඇති වන බව තමන් තුලින්ම දකිනකොටත් මහා සුවයක්, ප්‍රසාදයක්, ප්‍රීතියක් දැනෙන බව සත්‍යයි. දහම් දකින පමණින් ආස්වාද මර උගුලෙන් නිදහස් වීම නිසා මහා ජය ඝෝෂාවක් සිත ගත විනිවිඳ නැගී එන බව සත්‍යයි. ඒ සත්‍යය තමන්ටම ප්‍රත්‍යක්ෂ වූ, තමන්ටම අත්දැකිය හැකි වූ, අතීතයට සීමා නොවී මේ පච්චුප්පන්න මොහොතෙත් අත්දකින්න පුළුවන්, මහා පිරිසක් විසින් සජීවීව අත්දකිනු ලබන්නා වූ අකාලික සුවයක් බව සත්‍යයි. ඒ සත්‍යය ඥාන සම්ප්‍රයුක්තයි. ඒ සත්‍යය නිසා ඇති වන සුඛය අසම සමයි.

එහෙනම් අපට වඩා මහා උතුම්, සම්මා සම්බුදු පියාණන් වහන්සේලා, පසේ බුදු පියාණන් වහන්සේලා, අරිහතුන් වහන්සේලා ලබපු ජය, ලබපු සුවය මොන තරම්ද කියල අනුමාන ඥානයෙන් දැකල ඇති වන මහා සතුට, ශ්‍රද්ධාව, සුවය, ප්‍රීතිය, ශාන්තිය සත්‍යයක්මයි. "බුදු ගුණ අනන්තයි" කියල අර්ථ නොදැන වචන විතරක් මිමිණුවත් අත්වන ඵල මහා සුව දෙනව නම්, අර්ථය දැනගෙන මේ ආකාරයෙන් අනුමාන වශයෙන් දකින කොට ඇතිවන ජය ඝෝෂාව සත්‍යයක්මයි. ඒ විදිහට ප්‍රසාදයට පත් වෙච්ච ජනතාව, දහම් දැකපු ජනතාව, "දේව ගණා" ලෙස, බ්‍රහ්ම - දිව්‍ය - මනුස්ස කියන සියලු සුගති තලවල ආර්ය භූමිය දුටු පිරිස, පරමාර්ථ වූ අෂ්ඨාර්ය පුද්ගල මහා සංඝ රත්නය විදිහට පිළිගැනීම නිවැරදියි.

එහෙනම් ආර්ය භූමියට පත්වෙච්ච දේව ජනයාගේ මහා ප්‍රසාදය සත්‍යයක්මයි. ඒ සත්‍යයේ බලයෙන් සිද්ධ වෙන්නෙ කෙළෙස් තැවීමක්මයි, නිවන් මග වැඩීමක්මයි, අරිය මග ඉදිරියට යාමක්මයි, අපමණ අසරණ ලෝක සත්වයාට වන්දි ගෙවීමක්මයි, මහා කරුණාවක්, මෛත්‍රියක්, සෙතක්, ශාන්තියක්මයි. එහෙනම්, ඒත්තෙ සච්චේන සුවත්ථි හෝතු වශයෙන්, ඒ සත්‍යයේ බලයෙන් සුවයක් වේවා, යහපතක් වේවා කියල සත්‍යක්‍රියා කිරීම කොයි තරම් ශක්තියක්, ශාන්තියක්, සුවයක් අත්කර දෙනවද? සත්‍යක්‍රියා කරන්න මීට වඩා වෙනත් ශාන්තියක් අරමුණු කරන්න පුළුවන් කෙනෙක් කොතැනක හරි ඉන්නවද? මේ තමයි ඉහළම ශාන්තිය. නිවන් දැකීමෙන් හට ගන්නේ ඉහළම ප්‍රසාදය. සත්‍යක්‍රියා කිරීම සඳහා මීට වඩා ඉහළ කිසිවක් තවත් තියෙන්න පුළුවන්ද?

ආස්වාද මායාව කැටි කරගත්ත පංච මාරයන් පරාජය කරන්නෙ, භවය සහමුලින් උදුරා දමමින්, මාරයන්ගෙන් හටගන්නා වූ දුක් පීඩාවන්ට හේතු නිරෝධ කරමින්මයි. සියලු මාර ධර්ම යළි නූපදින විදිහට සහමුලින්ම නිරෝධ කරමින්මයි. සම්මා සම්බුදු පියාණන් වහන්සේලා, පසේ බුදු පියාණන් වහන්සේලා, මහ රහත් උත්තමයන් වහන්සේලා ඒ විදිහට ජය ගැනීමෙන් මාර බලපෑම සහමුලින්ම අහෝසි කිරීමෙන් මහා යහපතක් උදා කර ගත් බව සත්‍යයක්මයි. මම මේ දැකපු සත්‍ය දහම මේ තරම් ප්‍රණීත නම් ශාන්ත නම්, උන්වහන්සේලාගේ මහා ජයග්‍රහණය මොන තරම් ශාන්ත ප්‍රණීත සුවයක් වෙන්න ඇත්ද? ඒ මහා ජයග්‍රහණයට මාගේ නමස්කාරය වේවා! මමත් ඒ ජයග්‍රහණයට පත් වේවා!

මේ විදිහට හිතන කොට ඇතිවන ප්‍රසාද හිත තුල මුළු

# නොපළ වූ ගුණ කඳ

## මාරකයක් පැන්නූ සාසනික පිංකම... XXVI

### අභයරතනාලංකාරය - 97


වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

මේ වෙනකොට රටේ තොටේ විවිධාකාරයේ සාසනික පින්කම් මහා උත්කර්ෂවත් අන්දමින් නිතර දෙවේලෙ පැවැත් වෙනවා. ඒත් ඒවාට සහසම්බන්ධ වෙන බොහොමයක් පිංවතුන් මේ සාසනික පින්කම්වල තියෙන වටිනාකම ඥානසම්ප්‍රයුක්තව දන්නෙ නෑ. ඥානසම්ප්‍රයුක්තව දැනගත්තෙ නෑ කියල පිංකම අපතෙ යන්න නැති වුනත්, ඒ විදිහට වටිනාකම දැනගෙන සිද්ධ කළ තරමට තමයි ඒ පින්කමේ ප්‍රතිඵලත් වැඩි වෙන්නෙ. වෙනත් විදිහකින් කියනව නම්, බුද්ධ සාසනයක් මුල් කරගෙන සිද්ධ කරන පිංකමක තියෙන අප්‍රමාණ ශක්තිය දැනගෙන, ඒක මහා වටිනාකමක් තියෙන පින්කමක් බව තේරුම් ගන්න ඕන. එතකොට තමයි ඒකෙන් ලැබෙන ප්‍රතිඵලත් මහත්ඵල වෙන්නෙ.

සාමාන්‍යයෙන් අද ඉන්න සම්මත බෞද්ධ ජනතාව තමන්ට එන හදිසි ලෙඩ රෝග, කරදර බාධක, මාරක අපල උපද්‍රවවලදි බෝධි පූජා, පහන් පින්කම්, ඖෂධ පූජා... ආදී සාසනික පින්කම් සිද්ධ කළත්, ඒ බොහොමයක් පින්වතුන් ඒවායේ වටිනාකම හරියට දැනගෙන නෙවෙයි සිද්ධ කරන්නෙ. සම්මතයේ එන නිසා කරනවා. ඒ නිසාම සමහර උදවිය මේ සාසනික පින්කම් හැල්ලුවට ලක් කරන්න, සුළුකොට තකන්න පුරුදු වෙලා ඉන්නවා. මොකද මතුපිටින් බැලුවම පංචේන්ද්‍රියන්ට ගෝචර වෙන ආකාරයේ ප්‍රතිඵලයක් දකින්න නැති නිසා. සමහරවිට ඒ සාසනික පින්කම් නිසා කෙනෙක්ගෙ අපල උපද්‍රවයක්, මාරක බාධකයක්, ලෙඩ රෝගයක් දුරු වුනත්, ඒ හේතුව නිසා සිද්ධ වුනා කියල පිළිගන්නෙ නෑ. වෙනත් අහඹු සිදුවීමකින්, එහෙම නැත්නම් බෙහෙතකින් හේතකින් විතරක් ඒ ලෙඩ රෝගය, බාධකය මගහැරුන කියල තමයි පිළිගන්නෙ, විස්වාස කරන්නෙ.

හැබැයි අපදානපාලිය බැලුව නම් තේරෙනවා, සම්මා සම්බුද්ධ සාසනවල අසූ මහා ශ්‍රාවකයින්/ශ්‍රාවිකාවන් ඒ තත්ත්වයන්ට පත්වෙලා සසර ගමන කෙළවර කළේ කොහොමද කියල. සමහරවිට අබුද්ධෝත්පාද කාලයක වැල්ලෙ වැලි ගොඩක් ගහල චෛත්‍යයක් කියල හිතල, එහෙම නැත්නම් බුදුන් වහන්සේ කියල හිතල වන්දනාමාන කරල, කැලේ තියෙන පිළිම වහන්සේ නමකට යන එන ගමන් මලක් පහනක් පූජා කරල, බෝ මලුවක් අමදල, එහෙම නැත්නම් වෙනත් මොනවා හරි තමන්ට පුළුවන් විදිහට සුළුවෙන් හෝ කරපු උපහාර පූජාවකින් තමයි ඒ පාරමිතාව පටන් අරගෙන තියෙන්නෙ. ඒ වගේම බුද්ධ කාලයේ පවා සම්මා සම්බුද්ධ සාසනයට සම්බන්ධ පින්කම්වලට අතහිත දීගෙන තමන්ගෙ කරදර බාධක, එන්න තිබුණ මාරක බාධක දුරු කරගෙන මහා යහපතක් උදාකර

චතුරාර්ය සත්‍යයම අඩංගු මහා විදර්ශනාවක් සිද්ධ වෙනවා. දුක්ඛ සත්‍යය හෙවත් ආදීනවය, සමුදය සත්‍යය හෙවත් පංච මාර ධර්මයෝ, එහෙම නැත්නම් ආස්වාදයන් කෙරෙහි ඇති ඡන්ද රාගය, නිරෝධ සත්‍යය හෙවත් මාර ධර්මයන් කෙරෙහි වූ ඡන්ද රාගය අහෝසි කරල නිවන් දැකිය යුතු බව, මාර්ග සත්‍යය හෙවත් ඒ විදිහට අහෝසි කිරීමට මග නම් මාර පරාජයන් දැකල උදුරා දැමීම හෙවත් අරි අටඟි මගේ ඉදිරියට යාම කියන මේ චතුරාර්ය සත්‍යයම මෙනෙහි වන්නා වූ මේ උතුම් ගාථා රත්නය නිවන් සාක්ෂාත් කරන තුරාවට වඩන්න පුළුවන් අගනා කමටහනක් වශයෙනුත්, මාර පරාජයට මෙවලමක් වශයෙනුත් ගන්න පුළුවන්.

සිවුවන පදයෙන් "ඒතේන සච්චේන සුවත්ථි හෝතු" කියල මහා අරිය සත්‍යයන් සිහි කරල, ආර්ය මහා ගුණ සිහි කරල සිදු කරන ආශිර්වාදය ආර්ය මෛත්‍රිය පැතිරවීමකුත් වෙනවා. අමා මහ නිවන් සුවය අග්‍ර කළ මහා ශාන්තියකින්, සුවයකින් දස දිසාවටම ආශිර්වාද මෙත් සිතිවිලි විහිදුවීමට වඩා ඉහළ මෛත්‍රියක් තවත් නෑ. ඒ නිසා විදසුනෙන් ජනිත වන්නා වූ අග්‍ර වූ ප්‍රණීත විපාකත්, දෙවනුව ඉහළම විපාක සහිත ආර්ය මෛත්‍රියෙන් ජනිත වන්නා වූ මහා ප්‍රණීත විපාකත් යන සියල්ල කැටි වූ, සමථ විදසුන් යුගනන්ධව වැඩෙන්නා වූ, කෙලෙස් දවන්නා වූ, අනන්ත ලෝක සත්වයාට මහා වන්දියක් ගෙවිල සකළ සක්වළටම මහා ශාන්තිය දනවන, මෙත් කිරණ විහිදෙමින් සුවපත් කරන්නා වූ අති ප්‍රබල ශක්තියක් ගැබ් වූ සරල ගාථා රත්නයක් විදිහට කොයි තරම් යහපතක් වෙනුවෙන් මේ ගාථා රත්නය යොදා ගන්න පුළුවන්ද?

ලෞකික අර්ථය ඉතා වටිනා බව ඇත්ත. නමුත් ලෝකෝත්තර අර්ථය සහ එයින් ලැබෙන ශාන්තිය සියල්ල පරයා සිටින බව මේ වෙන කොට පැහැදිලි වෙන්න ඕන. ඒ නිසා ලෞකික අර්ථයෙන් විතරක් නවතින්නෙ නැතිව, අවබෝධයට ගන්න පුළුවන් නම්, සිහියට ගන්න පුළුවන් නම්, ලෝකෝත්තර අර්ථයත් නිතරම මෙනෙහි කරමින් මේ මහානුභාව සම්පන්න වටිනා ගාථා රත්නයෙන් නිසි ඵල නෙළා ගන්න උත්සාහ ගන්න.

මේ උතුම් අර්ථයන් ලෝකයට නැවත හෙළි කරමින් වැසී තිබුන දහම් මග යළි විවර කරමින් නිවන යථාර්ථයක් කළ අති උත්තම ගුණෝපේත වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේටත් නමස්කාර වේවා!


**සටහන**

**අසංක හෙට්ටිආරච්චි**

මෘදුකාංග ඉංජිනේරු - පාදුක්ක - 0715639005

ගත්ත අවස්ථා දහම් පොත්පත්වල සඳහන් වෙනවා.

කොහොම නමුත් පසුගිය කාල වකවානුව වෙනකොට බුදු දහමේ අර්ථ යටපත් වෙලා, මනුස්සයො හුදෙක් භෞතිකත්වය තුළම හිර වෙලා, තවත් කොටසක් අන්ධ භක්තිය තුල සාසනික වත්පිළිවෙත්වලින් බැහැර වෙනත් මාර්ගවලින් පිළිසරණ පතාගෙන කටයුතු කිරීම තුළ, මේ සාසනික පිංකම්වලින් මහා ඵල ලබන්න පුළුවන් අවස්ථා ගිලිහිලා ගිහින් තිබුනා. නමුත් මේ වෙනකොට දහමේ සැඟවුණු අර්ථ මතු කරමින් සිල්වත් ගුණවත් සිවුපිළිසිඹියාපත් ඥානයන්ගෙන් යුත් උත්තමයන් වහන්සේලා පහළ වීමත් සමගම ඒ අඳුරු යුගය නිමාවට පත් කරමින්, පෙර පැවති ඥාන සම්ප්‍රයුක්ත පුද පූජාවලට ජනතාව ක්‍රමයෙන් නැඹුරු වන ආකාරයක් දකින්න තියෙනවා.

දැන් මේ කියන්න යන්නෙ අන්න ඒ වගේ ඥානසම්ප්‍රයුක්තව, වටිනාකම දැනගෙන කරපු සාසනික පින්කමකින් මාරකයක් පන්නපු හැටි කියවෙන කතා පුවතක් ගැන. හැබැයි මේ වගේ, කෙනෙක්ගෙ තියෙන මාරකයක් දුරු කරන්න අවශ්‍ය සාසනික පුණ්‍ය කර්මය එල්ල කරලම කියන්න නම් යම් කිසි දිවැසක්, සමාධියක්, විශේෂ ඥානයක් තියෙන උත්තමයෙක් වෙන්න ඕන. නමුත් අවස්ථානුකූලව මේ ඔස්සේ කරුණු කාරණා තේරුම් අරගෙන, මේ වගේ පින්කම් නැණ නුවණින් මෙහෙය වන්න අනෙක් අයටත් පුළුවන්. ඒ වගේම මේ සාසනික පින්කම්වලට අතහිත දෙනවා කියන්නෙ, අති දුලබ බුද්ධ සාසනයක කෙනෙකුට ලැබෙන මහා වාසනාවන්ත අවස්ථාවක් බවත්, ඒ වගේ පින්කමක් සුළුකොට තකන්න බැරි බවත් කියන මේ කාරණා තේරුම් ගන්නත් මේ හෙළිදරව් කිරීම බොහොම වැදගත් වේවි.

වහරක අභයරත්නාලංකාර මහ තෙරුන් වහන්සේගේ සුවිශේෂීය ඥානයන්ට, සමාධියට ගෝචර වූ මේ සිද්ධියට සම්බන්ධ උපාසක මහත්තය මේ වෙනකොට අවුරුදු 88 ක් වයස වයෝවෘද්ධ කෙනෙක්. ඒ නිසා ඔහු විසින් හෙළි කළ, තමන්ට මතක තියෙන කරුණුවලින් විශේෂයෙන් වැදගත් වෙන කරුණු සාරාංශ කරල ගලපල තමයි මේ ලිපිය ඉදිරිපත් කරන්නෙ. ඔහු පොල්ගහවෙළ පදිංචි එච්.එම්. පොඩිඅප්පුහාමි මහතා. මේ තමයි ඔහුගේ මතකය කෙටියෙන්.

වහරක හාමුදුරුවො ඒ කාලෙ මහණ වෙලා හිටියෙ නෑ. ගිජ්ඣකූට ශෛලපබ්බතාරාමය කියන පන්සලට පහළින් තිබුන උපාසක මහත්තයෙක් දීපු ගෙදරක තමයි බණ භාවනා, බෙහෙත් ප්‍රතිකර්ම ආදී කටයුතු කරගෙන හිටියෙ. ඊට උඩින් තියෙන ඒ පන්සලේ තමයි බෝධි පූජා, පහන් පූජා, සිල් වැඩසටහන්, දහම් සාකච්ඡා... ආදිය සිද්ධ කළේ. සතියකට දවස් තුනක් තමයි බෝධි පූජා ආදිය පවත්වල, එන පිරිසට බෙත් ප්‍රතිකර්ම ආදිය පහළ නිවසෙදි සිද්ධ කළේ. ඒ වගේ වැඩ කටයුතු කරන දවස්වලට හැර අබේරත්න මහත්තය ඒ ගෙදර ඉන්න දවසක් නම් එළියට පහළියට යන්න ඕන වුනොත් විතරක් දොර ඇරගෙන යනවා. අනික් හැම වෙලාවෙම උදේ ඉඳන් රෑ වෙනකල් කාමරය වහගෙන බණ භාවනා කටයුතු තමයි කළේ.

ආශිර්වාද බෝධි පූජාව පවත්වනකොට ඇස් දෙක පියාගෙන කවියෙන් පැය ගණනාවක් එක දිගටම පූජා පවත්වනවා. ඒක මනෝමය වශයෙන් මවල කරන පූජාවක්. මමත් ඒ ස්ථානයේදී යම් කිසි අමුතු දේවල් දැකල තියෙනවා. සෙත් කරනකොට වටපිටාවත් හරි අමුතු විදිහට දැනෙනවා. බුද්ධ පූජාව තිව්වම ඒක සතෙකුටවත් කන්න දෙන්නෙ නෑ, වළ දාන්න කියනවා. මොකද සත්තු ඒවා කෑවම දිරවන්නෙ නෑ කියනවා. ආශිර්වාද බෝධි පූජාව ඉවර වුනාට පස්සෙ පිරිස බුලත් අතේ තියාගෙන එන පිළිවෙලට ඒ අයගෙ ලෙඩ රෝගවලට, විවිධ ගැටළුවලට ප්‍රතිකර්ම කියනවා. බිම බලාගෙන තමයි කෙනෙක්ගෙ උප්පත්තියේ ඉඳන්ම කියන්නෙ. ඒ සේරම විස්තර කියල තමයි ඉන්න අයට බෙහෙත් දෙන්නෙ.

ඉතින් මමත් කොහොම හරි අබේරත්න මහත්තය ගැන දැනගෙන සම්බන්ධ වෙලා කතා කළා. ඒ ප්‍රදේශයේ විස්තර ආදිය මෙහෙමයි නේද කියල මගෙන් අහල, ඒ ප්‍රදේශයේ තියෙන සාසනික වටිනාකමත් පැහැදිලි කළා. මහත්තයා ඒ ඔක්කොම දැනගෙන තමයි මගෙන් විස්තර අහන්නෙ. කොහොමහරි ඒ ප්‍රදේශය මලියදේව මහ රහතන් වහන්සේටත් සම්බන්ධ නිසා විශේෂ හාස්කම් තියෙන බවත් දැනගත්තා. ඉතිං මමත් ඒ දවස්වල දේවාල ගානෙ ගිහින් කේන්දර එහෙම බලල දෙයියො කියන විදිහට තමයි වැඩ කටයුතු කළේ. එතකොට මගේ වයස අවුරුදු 68 යි. මම ඉපදුනේ 1931. දෙවි හාමුදුරුවො කියනවා, මිනිස්සුන්ගෙ දුසිරිත් වැඩ නිසා උතුරේ ගිනි පත්තු වෙනවා දකුණේ කඳු කඩා වැටෙනවා කියල. මටත් කියල තිබුනා, පුතා උඹට තව අවුරුදු 2 යි ආයුස තියෙන්නෙ, අහවල් මාසයේ අහවල් දවසට උඹ අනිවාර්යෙන්ම මැරෙනවා කියල.

මම ඉතින් දවසක් අබේරත්න මහත්තය මුණගැහෙන්න ගිහින් මේ ගැන ඇහුවා, මහත්තය මගේ වෙලාව බලන්නකෝ, මට කොච්චර ආයුස තියෙනවද කියල, හැබැයි මම දන්නවා මට තියෙන්නෙ අවුරුදු 70 යි කියල. ඊට පස්සෙ මහත්තයත් බලල කිව්වා, එහෙම දෙයක් තියෙනවා, හැබැයි ඒක වෙනස් කරන්න පුළුවන් කියල. ඊට පස්සෙ ඒ ගැන තවත් විස්තර කියල මට භාවනා කමටහනකුත් දුන්නා අවංකයි, පිරිසිදුයි, පිවිතුරුයි, පබසරයි කියල. ඉතින් මහත්තය මට ඒ කමටහන ගැන හොඳට විස්තර කරලත් දුන්නා. ඊට පස්සෙ මහත්තය තමයි කිව්වෙ මේ පන්සලේ සණ්ඨාරයක් හදන්න යෝජනා වෙලා තියෙනවා, පුළුවන්ද කියල. මමත් ඉතින් බොහොම සන්තෝසෙන් පුළුවන් කියල බාර අරගෙන, හැබැයි මේකට සමිති සමාගම් ආධාර මුකුත් නැතිව කරමු කිව්වා. මොකද නැත්නම් මම මේක හැදුවම ගමේ අනික් අය කියයි ඕක නිකන් කෙරුව නෙවෙයි හම්බකරගත්ත කියල. ඉතින් සණ්ඨාරය හැදුවට පස්සෙ අබේරත්න මහත්තය කිව්වා, මහත්තයට ආයුස තිබුනෙ අවුරුදු 70 යි, මේ සණ්ඨාරය හැදුවට පස්සෙ අවුරුදු 15 කින් ආයුස වැඩි වුනා කියල. ඒ සණ්ඨාරයත් හරි විශේෂයි. ලොකු සණ්ඨාරයයි, ඒ වටේට තවත් පොඩි සණ්ඨාර පහකුයි තියෙනවා. ලොකු සණ්ඨාරය නාද කරනකොට අනික් පහත් නාද වෙනවා. ඒ දවස්වල පූජාවට සණ්ඨාරය ගහනකොට අපේ ගෙදරටත් ඇහෙනවා. ඊට අමතරව මම ඒ පන්සලේ විහාරගෙයි චිත්‍ර අන්දවල ඒවත් පූජ කළා.

ඉතිං ඒ දවස්වල මමත් සතියකට දවස් දෙකක් විතර අබේරත්න මහත්තය මුණගැහෙන්න ගිහින් කතා කරල වැඳල එහෙම එනවා. ඒ ප්‍රදේශයේ තියෙන දේවල් මහත්තයට ඔක්කොම පේනවා. මාත් එක්ක ඉතින් විස්තර එහෙමත් කියනවා.

දවසක් මහත්තය පූජාව ඉවර වෙලා දවල් දොළහට එකට විතර පල්ලෙහාට බහිනකොට, සියලු

දෙනාම බුලත් අරගෙන පෝලිමට ඉන්නවා බෙහෙත් අහන්න, වෙලාවල් බලව ගන්න. එතැන හිටපු තවත් උපාසක මහත්තයෙක් අබේරත්න මහත්තයට කිව්වා, මහත්තය හම්බවෙන්න රැවුල වවාගත්ත මහත්තයෙක් මිදුලෙ ඇවිත් ඉන්නව කියල. ඒ පාර එන්න කියන්න කිව්වා. ඇවිත් පුටුවෙ ඉඳගෙන ත්‍රස්තවාදය ගැනත් ඇහුවා. අහපු ගමන් මහත්තය උත්තරත් දුන්නා. තවත් ප්‍රශ්න ගොඩක් අහගෙන ගියා. ඒ ඔක්කෝටම මහත්තය උත්තර දුන්නා. බලනකොට ඔහු රහස් පොලිසියෙන් (ආවේක්ෂණ කටයුතු සිදු කරන, අදාල පොලිස් වසමේ සිවිල් ඇඳුමෙන් සැරසුනු නිලධාරියෙක්). දැන් මේ කට්ටිය ඉන්නවා බුලත් අරගෙන... මේ මහත්තය අබේරත්න මහත්තයගෙන් ප්‍රශ්න අහනවා. එතකොට අබේරත්න මහත්තය මේ පොලිසියේ මහත්තයගෙන් ඇහුවා, ඔබතුමා ඉස්සෙල්ලම ක්‍රිස්තියානි ආගමේ නේද හිටියෙ පස්සෙ නේද බෞද්ධ ආගමට ආවෙ කියල. ඔබතුමාගෙ ඉස්තෝප්පුවේ මේ විදිහට පුටු තියෙනවා නේද කියලත් ඇහුවා. ඔය විදිහට විස්තර වගයක් කියල තවත් මොනවද ඇහුව දැනගන්න ඕන. කොහොමහරි විස්තර කියනකොට ඒ අයත් පැහැදුනා. අන්තිමට ඇවිත් බණත් ඇහුවා. මුලින් ඒ අය ආවෙ ගමේ සමහරු මේ වැඩසටහනට විරුද්ධව පෙත්සම් ගහල ඒ ගැන හොයල බලන්න. කොහොම හරි බණ අහල ඉවර වෙලා ඒ අය පෙත්සම් ගහපු මිනිස්සුන්ට දොස් කිව්වා, මෙච්චර හොඳ වැඩක් කරත්දි ඇයි මේ වගේ විරුද්ධව වැඩ කරන්නෙ කියල.

අනේ ඉතිං පස්සෙ ආරංචි වුනා අබේරත්න මහත්තයට වහ දුන්න කියල. මහණ වුනාට පස්සෙ එක දවසක් මම පන්සලට ගියාම මාව හඳුනගත්තා. මට උන්වහන්සේගෙ ආදාහන උත්සවයට යන්නත් බැරි වුනා. ඒ ගැනත් හිතට හරි අමාරුයි. ඒ වුනාට මම ඒ වෙච්ච දේවල් ඔක්කොම දන්නව මහත්තයෝ. බුදුන් වහන්සේ ඉන්න කාලෙත් විරුද්ධකාරයො හිටියනේ. ඒ වගේ තමයි අදත් හොඳ වැඩක් කරනකොට ඒකටත් විරුද්ධ වෙන අය ඉන්නවා. අබේරත්න මහත්තය නිසා තමයි මම අදටත් ජීවතුන් අතර ඉන්නෙ. මහත්තය කිව්වෙ ඒ පින්කම නිසා අවුරුදු පහළොවකින් මගේ ආයුස වැඩි වුනා කියල. ඒ කියන්නෙ හරියට බැලුවොත් අවුරුදු 85 ක්. නමුත් මට දැන් 88 යි. අවුරුදු පහළොවත් ඉක්මවල ආයුස දික් වුණා.



පැන් බඳුනකට විශේෂ ආශිර්වාද ශක්තිය ගැබ් කරමින්

---------------------------

මේ සිද්ධියට මුහුණ දුන් ඒ උපාසක මහත්තය දැන් වයෝවෘද්ධ නිසා, මේ කතාව එක දිගට කියාගෙන යනකොට සමහර තැන්වලින් පැටලෙන ස්වභාවයක් තිබුනා. ඒ නිසා මේ ගැන තවත් විස්තර ලබාදෙන්න ඒ කාලෙ වහරක හාමුදුරුවන්ව ළඟින් ඇසුරු කරපු මේ සිද්ධියට සම්බන්ධ වෙච්ච තවත් උපාසක මහත්තයෙක් ඉදිරිපත් වුනා. අර මහත්තයට අමතක වෙච්ච කාරණා ටිකත් ඔහු මේ විදිහට කෙටියෙන් විස්තර කළා.

වහරක හාමුදුරුවො ගිහිවතක ඉන්නකොට පොල්ගහවෙළ ගිජ්දාගම සාසනික කටයුතු කරන්න පටන් ගත්ත මුල් කාලයේ අහල පහල සෙනග එන්න පටන් ගත්තා. සතියකට වතාවක් දෙකක් ආශිර්වාද බෝධි පූජාව තියනවා. ඊට පස්සෙ සමාධියෙන් බේත් හේත් ආදිය බලල, ඇවිත් ඉන්න පිරිසගේ අවශ්‍යතා ඉටු කරල දෙනවා. ඔය විදිහට කටයුතු කරගෙන යනකොට අල්ලපු ගමේ වෙළඳාම් කරන මුදලාලි මහත්තයෙක් හිටියා. ඔහුගෙ පුතා ඒ වෙනකොට ප්‍රාදේශීය සභා මන්ත්‍රීවරයෙක්. ඒ වුනත් මේ සාසනික කටයුතුවලටත් උදව් උපකාර කරපු කෙනෙක්. ඒ පුතාගෙ සම්බන්ධයත් එක්ක මේ මුදලාලි, අබේරත්න උපාසක මහත්තය මුණගැහෙන්න ආවා. හැබැයි ඔහු දේවාල ගානෙ එහෙම යන කෙනෙක්. ඒ ගියාම ඒවායේ කියන අනාවැකි මෙහේ ඇවිත් වර්ණනා කර කර කතා කරනවා. අබේරත්න උපාසක මහත්තය බණ පදයක් එහෙම කතා කරන්න ගත්තම මේ මුදලාලි අර දේවාලවලින් කියපු කතා එහෙමත් කියනවා. අහවල් දේවාලෙන් මෙහෙම කිව්වා, මස් කන්න එපා, මත්පැන් බොන්න එපා, ඒ නිසා රට විනාස වෙනවා... ඔය වගේ කතා තමයි කියන්නෙ.

ඔය අතර දවසක් ඇවිත් මෙහෙම කියනවා. මහත්තයා මට අවුරුදු 70 යි ආයුස තියෙන්නෙ. 70 න් මම මැරෙනවා, මට මාරකයක් තියෙනවා. දෙවියො මට කියල තියෙන්නෙ උඹ අහවල් මාසෙ අහවල් දවසෙ මැරෙනවා, බේරගන්න බෑ කියල. ඉතින් මට තව වැඩි කාලයකුත් නෑ අවුරුදු දෙකක් විතර තියෙන්නෙ. දැන් මගේ වයස අවුරුදු 68 යි... ඔය ආදී වශයෙන් කිව්වම, අබේරත්න උපාසක මහත්තයත් ඒ කියනකොටම ක්ෂණිකවම සමාධියට යොමු කරල බැලුවා. බලල මෙහෙම කිව්වා. ඔව් මුදලාලි එහෙම දෙයක් තියෙනවා. ඒත් ඒක වෙනස් කරගන්න පුළුවන්. මුදලාලි මම ඔය කියන මාරකය වෙනස් කරන්නම්, මුදලාලිට පුළුවන්ද ඇහුවා මේ සාසනයේ පිංකමක් කරන්න. පුළුවන්, මොකක්ද කරන්න තියෙන්නෙ කියල ඇහුවා. මෙන්න මේ අපි පූජා පවත්වන, සාසනික කටයුතු කරන විහාරස්ථානයේ සණ්ඨාර කුළුණක් නෑ. ඉතිං පූජාවලදි සන්ඨාර නාද කරන සිරිතකුත් සම්මතයේ තියෙනවනෙ, ඒ නිසා සණ්ඨාර කුළුණක් හදන්න අවස්ථාව තියෙනවා, කැමති නම් කරන්න පුළුවන් කිව්වා. හැබැයි ඒ සණ්ඨාර කුළුණ හදන්න ඕන ධර්මානුකූල පැත්තක් තියෙනවා, ඒ විදිහටයි හදන්න ඕන කියලත් විස්තර කිව්වා.

අන්න ඒ විදිහට ඒ සණ්ඨාරය හදන්න ඕන කියල සණ්ඨාරය ගැන වටිනා දහම් විග්‍රහයකුත් කළා. ගැටෙන ආකාරය

තමයි සංස්කාරය කියන්නෙ. මනෝන්ද්‍රිය මුල් කරගෙන පංචේන්ද්‍රියන් වැඩ කරන හැටි, මනත් එක්ක ඇස සට්ටනය කරන හැටි, ඒ වගේම කන සට්ටනය කරන හැටි, රූප කෙරෙහි, ශබ්ද කෙරෙහි, ස්පර්ශ කෙරෙහි සට්ටනය කරන හැටි... ඔය ආදී වශයෙන් බොහොම වටිනා ලස්සන දහම් විග්‍රහයක් කරල, පංචෙන්ද්‍රියන් සට්ටනය කරවල ඒ හරහා වැඩ ගන්නා මනස පෝෂණය වෙන හැටි විස්තර කළා. ඒ අනුව සංස්කාර කුළුණක් හදල ඒකෙ සංස්කාර 6 ක් එල්ලල ඒ මැද ප්‍රධාන සංස්කාරයෙන් නූල දාල අදිනකොට ඒ වටා තියෙන අනෙක් කුඩා සංස්කාර 5 ත් වැඩ කරන විදිහට හදන හැටි විස්තර කරල දුන්නා.

සංස්කාරය හදන්න පටන් ගත්තම මේ මුදලාලිත් ඇවිත් බලාගෙන ඉන්නවා. ඔහුට ඒ තරම් වෙහෙස මහන්සි වෙලා වැඩ කරන්න බැරි නිසා ඔහුගෙ පුතා එහෙමත් ඇවිත් උදව් උපකාර කළා. ඊට අමතරව අපිත් එක්ක තවත් ඒ ගමේ පිරිසක් සහසම්බන්ධ වෙලා පිංකමට උදව් කළා. අබේරත්න මහත්තයත් ලැබෙන ආධාරවලින් කොටසක් ඒ පිංකමට වෙන් කළා. හැබැයි මේ මුදලාලිගෙ මූලික ධන පරිත්‍යාගයෙන් ඔහුව මුල් කරල ප්‍රධාන කරල තමයි පින්කම සිද්ධ කළේ. අන්තිමට කියපු විදිහට සන්ධාර කුළුණ හදල පන්සලේ හාමුදුරුවොත් වැඩල නිරීක්ෂණය කළා. කොහොම හරි මාස කිහිපයක් ඇතුළත සම්පූර්ණ වැඩ ඉවර කරල සාසනයට පූජා කළා. එතකොට අබේරත්න උපාසක මහත්තය ලොකු පුණ්‍යානුමෝදනාවකුත් කළා. මුදලාලි මහත්තයටත් ඔහුගේ පවුලේ සියලු දෙනාටමත් අතහිත දුන්න සියලු දෙනාටමත් භික්ෂූන් වහන්සේලා ඇතුළු සියලු දෙනාටමත් සසරෙ මොනවා හරි කරදර බාධක අපල උපද්‍රව තියේ නම් ඒවා දුරු වෙලා, මේ සාසන ආශිර්වාද ලැබිල මේ අයට යහපත උදා වෙන්නත්, නිවන් දකින්නත් මේ පින්කම හේතු වෙන්න ඕන කියල බොහොම වටිනා විදිහට ඒ පුණ්‍යානුමෝදනාව සිද්ධ කළා.

ඉතින් ඒ දවස්වල මේ මුදලාලි සතියකට දවස් දෙක තුනක් විතර අබේරත්න මහත්තය මුණගැහෙන්න එනවා. ඒ එන සමහර වෙලාවට අබේරත්න මහත්තය භාවනා කරනවා. එතකොට ඉතින් පැය ගණනකට ආයෙ එළියට එන්නෙ නෑ. ඔහොම ගිහින් අන්තිමට අර කියපු දවසත් ආවා. ඒ කියන්නෙ මේ මුදලාලිට මාරකයක් එනවයි කියපු දවස. අපි දන්නෙත් නෑ එදා තමයි ඒ දවස කියල. ඉතින් එදත් මේ මුදලාලි දවල් දොළහට එකට විතර ආවා. මොකද ඔය වෙලාවට තමයි අබේරත්න මහත්තය එළියෙ පහළියෙ ඉන්නෙ. ඒ වෙලාව අල්ලල තමයි කතා කරන්න එන්නෙ. එදා කොහොමහරි ඒ වෙලාවට අබේරත්න උපාසක මහත්තය කාමරය ඇතුලෙ භාවනා කරනවා. මම මුදලාලිට කිව්වා, අබේරත්න මහත්තයා මේ දැන් ඉඳල තමයි භාවනා කරන්න ඇතුලට ගියේ, දැන් ඉතින් පැය 2 කටවත් එළියට එන එකක් නෑ කියල. කමක් නෑ මම ඉන්නම් කියල අපිත් එක්ක කතා කර කර හිටියා. ඔහොම ඉන්නකොට මම කිව්වා, එහෙනම් මුදලාලි වෙලාවත් ගියානෙ හෙට දිහාවට එන්න කියල. කිව්වම දවල් 2 ට විතර පිටත් වෙලා ගෙදර යන්න ගියා. ගෙදරට යන්න තියෙන්නෙ වෙළ දිගේ තියෙන පාරකින්. කිලෝ මීටරයක් විතර දුර පයින් යන්න තියෙනවා. ඒ පාරෙ මේ මුදලාලි යනගමන් එක්තරා තැනකදි කකුල් මාරු කරනකොටම විසාල නයෙක් කකුලට ගැහුවලු. හැබැයි කකුල මාරු කරනකොටම ගහපු නිසා ඒ පහර වැදිල තියෙන්නෙ පොළොවට. කකුලට වැදිල නෑ.

ඒත් එක්කම ඔහු මොකද කළේ, ගෙදර නොගිහින් ආපස්සට කැරකිලා කෙලින්ම අබේරත්න මහත්තය ඉන්න තැනට ආවා. එනකොට අබේරත්න මහත්තයත් විවේකයෙන් එළියෙ හිටියෙ. මුදලාලි ඇවිත් විස්තරය කිව්වා. මහත්තයා හරියටම හරි මගේ මාරකය අද මට ඔප්පු වුනා. හරියටම වයස හැත්තෑවයි. ඒ කියන දවස අද තමයි. මහත්තය අද මට නයෙක් මාරාන්තික පහරක් ගැහුවා. ඒත් මගේ පණ බේරුනා. මහත්තයට මගෙ සතුට කියල යන්නයි ආවෙ... ඔය විදිහට කිව්වා.

ඉතින් මේ පිංකම කරල දවස් දෙකකට විතර පස්සෙ කතා කරනකොටත් අබේරත්න මහත්තය කිව්වා, මුදලාලි බයවෙන්න එපා මුදලාලිගෙ ජීවිතය ඉදිරියට යනවා, කිසිම අනතුරක් නෑ, ඔය මාරකය පනිනවා, ඕකෙන් පස්සෙ අවුරුදු පහළොවකට කිසිම ආබාධයක් අනතුරක් නැතිව මුදලාලිට ඉන්න පුළුවන් කියල. දැන් ඉතින් අවුරුදු පහළොවකටත් වැඩිය ගත වෙලා.

ඉතින් එදා මුදලාලි ඇවිත් මේ සිද්ධිය කියල ගියාට පස්සෙ අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක මෙහෙම කිව්වා. හරියට හරිනෙ, බලන්න ඔය මාරකවල හැටි. ඔය නයා ගහනවා කියන කාරණයට වඩා වෙනස් එකකින් වෙන්න පුළුවන් මරණය සිද්ධ වෙන්න තිබුනෙ. නමුත් මේ සාසනයේ පිංකමක් කරල ආශිර්වාදය ලබපු නිසා විපාකය අඩුවෙන් නයෙක් හරහා ක්‍රියාත්මක වුනා වෙන්න පුළුවන්. නයා කියන්නෙ ඒ වෙලාවෙ සමහරවිට අමනුස්සයෙක් වෙන්නත් පුළුවන්. මොකද අමනුස්සයෙක් නයාට ආවේස වෙලා එන්න පුළුවන්. ඉතින් ඒ වගේ අවස්ථාවක් තමයි ඔය මාරු වුනේ. දැන් ඔහුව ලේසියෙන් අවුරුදු 15 ක් යනකල් මරන්න හම්බ වෙන්නෙ නෑ. බලන්නකො මේ සාසනයේ හැටි. මේ සාසනයේ පිනක් දහමක් කරල යම් කිසි සාධාරණ පැතුමක් පැතුවොත් ඒක සිද්ධ වෙන හැටි තමයි ඔය. ඉතින් ලෝකයාට මේවා කොහොම කියන්නද? ලෝකයා මේවා දැනගන්නෙ කොහොමද? මේවා ඉතින් ලෝකයාට කිව්වට විස්වාස කරන්නෙත් නෑ. අර අත්දැකීමක් ලබපු කෙනෙක් මේ කතාව කිව්ව මිසක් නිකං කෙනෙක් මේ වගේ කතාවක් කිව්වට විස්වාස කරන්නෙ නැනෙ... ඔය කාරණාව තමයි අබේරත්න මහත්තයා මූලිකවම කිව්වෙ.

---

දැන් මේ කතාවෙන් තේරුම් ගන්න පුළුවන් වැදගත් කාරණා ටිකක් තියෙනවා. ඇත්තටම මාරකයක් කියන්නෙ මොකක්ද, ඒක මාරකයක් වෙන්නෙ කොහොමද කියන කාරණා ඉස්සෙල්ලම තේරුම් ගන්න ඕන. නමුත් මිනිස්සු ඕක දන්නෙ නෑ. ඒකයි තියෙන ගැටළුව. දැන් ඔය කේන්දර බලල මාරකයක් තියෙනව කියල කිව්වට ඒක සිද්ධ වෙන විදිහ, පන්න ගන්න විදිහ හුඟ දෙනෙක් දන්නෙ නෑ. මේ දහම් න්‍යායෙන් විතරයි මාරකයක් පන්න ගන්න පුළුවන් වෙන්නෙ. කම්මා විපාකා වත්තන්ති... කියන ගාථාවෙන්, කර්මයක් කළාම විපාකයක් එන බවත්, ඒ විපාකයෙන් නැවතත් කර්ම ගොඩනගා ගන්න පුළුවන් බවත් කියවෙනවා. එතකොට කෙනෙකුට කර්මයක් එල දෙනකොට බොහෝ කොටම තවත් කෙනෙක් ඒ කර්මයේ කොටස්කරුවෙක් වෙනව කියනවා. උදාහරණයක් විදිහට අපි සතෙක්ගෙ බෙල්ල කැපුවොත් අපේ බෙල්ලත් කැපිල යන්න එපැයි! පූජකෝ ලභතේ පූජං වන්දකෝ පටි වන්දනං... කියන දහම් පාඨය අනුව, පිදුම් ලබන්න නම් පුදන්න ඕන, වැඳුම් ලබන්න නම් වඳින්න ඕන. ඒ න්‍යාය ධර්මයම තමයි මෙතැනදි ක්‍රියාත්මක වෙන්නෙත්.

ඒ කියන්නෙ, ගැහුවොත් ගුටි කන්න වෙනවා, බැන්නොත් බැනුම් අහන්න වෙනවා. හේතු ඵල කියන්නෙ ඒකයි.

එතකොට අපි කාගෙ හරි බෙල්ල කපල මැරුවොත්, අපේ බෙල්ලත් කැපෙන්න එපැයි. හැබැයි ගෙදර තියෙන කැති පොරෝ නිකං ඉබේ ඇවිත් අපේ බෙල්ලෙ වදින්නෙ නෑනෙ. අවම වශයෙන් රණ්ඩුවක් බේරන්න හරි යන්න එපැයි. එහෙම නැත්නම් රණ්ඩුවක් වෙන තැනකින් හරි යන්න එපැයි. අන්න එතකොට අර ගහපු පාරක් ඇවිත් බෙල්ලෙ වදිනවා. දැන් සතෙක්ගෙ බෙල්ල කැපුවට අපේ බෙල්ලත් කැපිල මැරෙන්න නම්, හැබැයි බෙල්ල ඉබේටම කැපෙන්නෙත් නැත්නම්, ඒ කපපු එකේ විපාකයත් අපිට ආව නම්, දැන් අපේ බෙල්ල කපල තියෙන්නෙ වෙන කෙනෙක්නෙ! එතකොට ඒ කෙනාට විපාකයක් එන්න බැරිද? ඒ අවස්ථාවේ තිබුන චේතනා අනුව ඒ කෙනාටත් විපාකයක් එන්න ඕන. හැබැයි ඒ කෙනාගෙ ගෙදර තියෙන කැති පොරෝ ඇවිත් ඉබේ බෙල්ලෙ වදිනවද? එහෙම වදින්නෙ නෑ. එහෙනම් ඔහුටත් අර වගේ අවස්ථාවක් යෙදෙන්න ඕන. අඩු තරමේ රණ්ඩු කරන තැනකින් හරි යන්න ඕන.

ඔය විදිහට එක් කෙනෙකුට කර්මයක් විපාක දෙන්න තව කෙනෙක් කර්මයේ කොටස්කරුවෙක් වෙනවා. ඒ කෙනාටත් විපාක දෙනකොට තවත් කෙනෙක් කොටස්කරුවෙක් වෙනවා. ඔය විදිහට තමයි ලෝකය පවතින්නෙ. මොකද අපි කර්ම කරනකොට තවත් අයට අවැඩ අසාධාරණ කරල තවත් අයත් එක්ක සම්බන්ධ වෙලා තමයි කරන්නෙ. හේතු ඵල දහම කියනකොට ඕක තේරෙනවා. එහෙම නැතිව කර්ම විපාකයක් නිකං ඵල දෙන්න ක්‍රමයක් නෑ. යම් කිසි සත්වයෙක් හරහා තමයි ඒක බොහෝ කොටම ක්‍රියාත්මක වෙන්නෙ. ඒ සත්ත්වයා මනුස්ස හෝ අමනුස්ස වෙන්න පුළුවන්, ඒ කියන්නෙ පෙනෙන හෝ නොපෙනෙන ලෝකයේ වෙන්න පුළුවන්.

දැන් මේකට වහරක හාමුදුරුවො තවත් උදාහරණයක් පෙන්වනවා. කෙනෙකුට තියෙන සමහර අසනීප වලට වෙදකම් කරන්න අවශ්‍ය බෙහෙත් ගහක නමක් කිව්වම අහවල් බේත් ගහ මේකට අවශ්‍යයි කියල, ඒක අහගෙන ඉන්න අමනුස්සයො ගිහින් ඒ ගහ නීච කරනවලු, ගහේ ඖෂධ ශක්තිය හීන කරනවලු. මොකද අර පුද්ගලයත් එක්ක යම් කිසි සසර ගනුදෙනුවක් තිබිච්ච අමනුස්සයො හිටිය නම්, ඒ අය හරහා ඒ විපාකය තමයි ඒ විදිහට ඇදිල එන්නෙ. දැන් ඒ පුද්ගලයට තියෙන අසනීපය සනීප කරගන්න ඒක බාධාවක් වෙනවා. ඒ වගේ සමහර අවස්ථාවලදි, කතා නොකර කෙම් කියල දෙයක් පාවිච්චි කරන්නෙ ඒකයි. එතකොට කෙනෙක්ව සර්පයෙක් දෂ්ට කරන්නෙත් ඒ වගේ කර්ම විපාකයක් නිසා. ස්වභාවික විපාකයකින් කර්ම ඵල දුන්නයි කිව්වත් ඒකටත් හේතුවක් තියෙනවා. ස්වභාවිකව වුනා කියල අපිට පිටින් පෙනුනට හේතු ගණනාවක් සම්බන්ධයි. එහෙම නැතිව නිකං

සිද්ධ වෙනව නෙවෙයි. කෙනෙකුට අකුණක් හරි ගහන්නෙ එහෙම විපාකයක් එන්න හේතුවක් තිබුනොත් තමයි. එහෙම නැත්නම් නිකං අකුණක් ගහන්න විදිහක් නෑ. ආපු කුණු තමයි අකුණු කියන්නෙ. කුණු තිබුනොත් තියෙන තැනට අකුණ ඇදල එනවා. කොහොමහරි ඉතින් කර්ම විෂය අචින්ත්‍ය නිසා අපි මේ පොදු න්‍යායක් තමයි කතා කරන්නෙ. ඒ කියන්නෙ වැඩිපුර පිරිසකට ගැළපෙන කොටසක් කතා කරනව මිසක් 100%ක් න්‍යාය ධර්මය විස්තර කරනව නෙවෙයි.

දැන් එතකොට මාරකයක් කිව්වම, අප විසින් පෙර කවුරුහරි කපල කොටල මරල අවැඩක් කරපු එකක් තමයි එන්නෙ. එහෙම නැත්නම් කෙනෙක්ගෙ දේපළක් කොල්ල කෑවට පස්සෙ ඒ කෙනාට කරගන්න දෙයක් නැතිව හිතේ අමාරුවෙන් සියදිවි හානි කරගෙන යක්ෂ අත්බැවක් ලබන්නත් පුළුවන්. දැන් අමනුස්සයෙක් විදිහට ඇවිත් අර තමන්ගෙ දේපළ කොල්ල කාපු කෙනාගෙන් පළිගන්න පුළුවන්, ජීවිතය නැති කරන්න පුළුවන්. ඔය විදිහට තමන් විසින් ඉලක්ක කරලම තව කෙනෙක්ගෙ ජීවිතය විනාස කරන්න උදව් වෙලා තිබුන නම්, දැන් ඒ කෙනත් මැරිල ගිහින් ඔහුගෙන් පළිගන්න එන්න පුළුවන්. එතකොට මොන ක්‍රමයකින් හරි තවත් ප්‍රබල අමනුස්සයෙක්ගෙන් තමයි ජීවිතයට හානි වෙන්නෙ. මාරකයක් කියන්නෙ අන්න ඒ වගේ දෙයක්.

අධ්‍යාත්මික ශක්තියක් තියෙන, හැකියාව තියෙන අය ඔන්න ඔය වගේ දේවල් දහම් න්‍යාය තුලින්, සමාධි ක්‍රමවලින් දකිනවා. කේන්දර බලන අය ඉගෙනගෙන ඒක බලල චක්‍රානුසාරයෙන් කිව්වත්, මේ කෙනාට ඒරාෂ්ටකයක් / මාරකයක් තියෙනවා ඒක මෙහෙමයි කියල, ඒ අයට මාරකය සුද්ධ ඇතිව කියන්න බෑ. මාරකය පන්නන්න බෝධි පූජා තියන්න කිව්වට, සෙත් කවි කියන්න කිව්වට, ඒක හරියට කණා පල්ලෙන් ගහනවා වගේ හරියන්නත් පුළුවන්, නොවෙන්නත් පුළුවන්. හැබැයි හරි ගියේ නෑ කියල සාසනික පින්කමක් නම් කවදාවත් අපතෙ යන්නෙ නෑ. ඒ අවස්ථාවෙදි මාරකයෙන් බේරුනේ නැතත් කවදහරි විපාක ගෙවා ගන්න, විපාකය අඩු කරගන්න, නිවන් දකින්න ඒ පිංකම උපනිශ්‍රය වෙනවා.

නමුත් සමාධියෙන් බලන කෙනෙක් ඒක දකින්නෙ ඒ ක්‍රමයට නෙවෙයි. අර මාරක තියෙන කෙනා පිටිපස්සෙන් කඩුවක් අමෝරගෙන පළිගන්න බලාගෙන අමනුස්සයෙක් ඉන්නව නම් ඒක දකිනවා. ඊටත් එහාට බලනකොට පෙර අත්බවයක පොල්ලකින් ගහල මරල. ඊටත් පෙර බලනකොට ඒත් ඒ වගේ සිද්ධියක්. ඔය විදිහට සමාධි බලන්න හැකියාව තියෙන කෙනා අත්බැව් 30 - 40, 100 - 200... ආදී වශයෙන් තම තමන්ගෙ හැකියාවන් අනුව ඈතට දකිනවා. ඔහොම බලාගෙන යනකොට ඒකෙ පටන් ගැන්ම මොකක්ද කියල බලනවා. බලනකොට ඇත්තටම මේ ගෙවල් දෙකක දෙන්නෙක් එකතු වෙලා ඉඩමකට හරි මොනව හරි දේකට රණ්ඩු වෙලා පොල්ලකින් ගහල එක්කෙනෙක් අනෙක් කෙනාව මරල. එහෙම නැත්නම් ඒ වගේ ලොකු පාඩුවක් / අලාභයක් කළාට පස්සෙ ඒ කෙනා මැරිල ගිහින් ඒකෙ පලිය ගන්න අනික් කෙනා පස්සෙන් ඇවිත් මරන්න බලාගෙන ඉන්නෙ. දැන් ඉතින් කෝච්චියට පනිනවා, මොනව හරි කරල බෙල්ල වැලලා ගන්නවා. ඒ වගේ මොනව හරි දෙයක් සිද්ධ වෙනවා. ඒක අර අමනුස්සයා සම්බන්ධ වෙලා තමයි මෙහෙය වන්නෙ. නමුත් ඒක අනෙක් අය දකින්නෙ නෑ. තමන්ට තේරෙන්නෙත් නෑ.

ඔන්න ඔහොම ඉන්නකොට අර සමාධි බලන්න හැකියාව තියෙන කෙනා මනුස්සය එක්කත් අමනුස්සය එක්කත් කතා කරනවා. එහෙම කතා කරනකොට සමාධි බලන කෙනා දක්ෂ වෙන්න ඕන, අර මනුස්සයට වගේම විශේෂයෙන් පළිගන්න බලාගෙන ඉන්න අමනුස්සයට දහම් පැත්ත කියල දෙන්න. උඹ එදා මේ වගේ දෙයක් කළා. උඹව කපල කොටල මැරුවා. එහෙම මැරුව එකට තමයි උඹ මේ පුද්ගලයට අද දඬුවම් දෙන්න / පළිගන්න

බලාගෙන ඉන්නෙ. මේ විදිහට කිව්වම ඒ අමනුස්සයා ඒක දකිනවා. ඒක දැක්ක නිසා තමයි පළිගන්නෙ. ඊට පස්සෙ ක්‍රමානුකූලව කාරණය තෝරල දෙනවා. බලපන් උඹේ හැටි... උඹ කැපිච්ච කෙටිච්ච විදිහට වැරහැලි ඇඳගෙන ලේ පෙරාගෙන ඔය විදිහට ඉන්නවා. හැබැයි උඹට වැරැද්ද කරලත් මොහු මනුස්ස භවයක් ලබල. දැන් බලපන් අත්බැව් ගණනාවක් තිස්සේ මොහු වැරැද්දක් කරල අදත් මනුස්සයෙක් වෙලා ටික කාලයකට හරි උඹට වඩා සැප විඳිනවා. උඹට ඒකත් නෑ, දුක් විඳිනවා. මෙහෙම කියන අතරතුර හෙමින් සීරුවේ අර වටපිටාවෙ ළඟ පාත ඉන්න භූමාටු දේවතාවො, තලාටු දේවතාවො... ආදී අයත් මේ අමනුස්සයට පෙනෙන්න සලස්වනවා. ඒ අය යම් කිසි සැපසම්පත් විඳින හැටි පෙන්වනවා. ඔහොම ගිහින් අර තට්ටු දෙකේ ගෙයක් තියෙන, යම් කිසි විදිහකින් ලෞකික වශයෙන් සැප විඳින කෙනෙකුත් පෙන්වනවා. උඹ කැමති නැත්ද මේ වගේ එකක් ගන්න, බලපන් උඹේ ඇගේ හැටි උඹ දුක් විඳිනවා. වැරැද්ද කරපු එකා උඹට වඩා සැප විඳිනවා. මේ විදිහට අවස්ථානුකූලව කියල තේරුම් කරල දෙනකොට අර වෛරය ටිකෙන් ටික සංසිඳෙනවා.

මුලින් එහෙම නොවුනත්, හැකියාව තියෙන කෙනා දන්නවා ඒ ක්‍රමවේදය අනුගමනය කරන්න. පස්සෙ අර දේවල් පෙන්වල කියනවා, උඹ මේ විදිහට වැඩ කරනව නම්, උඹට ගේ හරි ගස්සල දෙන්නම්, තට්ටු තුනේ ගේයි ඉඩමයි දෙන්නම්, කන්න බොන්න දෙන්නම්, උඹට මේ සුදුසුකම් ටික තියෙන්න ඕන කියල. එහෙම කියල කැමැත්ත ගන්නවා. උඹට මොනවද ඕන, උඹට මේ මේ සම්පත් ටික ලබා දෙන්නම්, ඔය වෛරය තවදුරටත් තියා ගත්තොත් උඹට දුක් විඳින්න වෙන්නෙ, උඹ දැන් ඔය වෛරය හිතෙන් අත්හැරපන් කියල මේ විදිහට කිව්වම, මුලින් අකමැති වෙලා පස්සෙ කැමති වෙනවා.

දැන් ඉතින් කරදරයට / මාරකයට පත්වෙලා ඉන්න මනුස්සයටත් ඔහුගෙන් මේ අමනුස්සයට වෙච්ච අවැඩ අසාධාරණය විස්තර කරල දීල ඒකට ධර්මානුකූලව වන්දි ගෙවන හැටි කියල දෙනවා. ඔබ කිරි ආහාර පූජාවක් තියන්න, අභවල් පූජනීය ස්ථානය සුද්ධ පවිත්‍ර කරන්න, ජය ශ්‍රී මහා බෝධියට, රුවන්වැලි මහා සෑයට යන්න, ඥාති බතක් දීල සාංඝික දානයක් දීල පුණ්‍යානුමෝදනාවක් කරන්න, තමන්ගෙන් අවැඩ අසාධාරණයට ලක් වෙච්ච සත්වයන් ඇතුළු සියලු සත්වයන්ට ආර්ය මෛත්‍රී වඩන්න ... ඔය ආදී වශයෙන් ඒ මනුස්සයට සාසනික වැඩ කොටසක් පවරනවා. ඔය විදිහට ඒ අමනුස්ස ලෝකයේ අවශ්‍යතාවයන්ට අනුව ගැලපෙන විදිහට සැප සම්පත් ලැබෙන්න යමක් තෝරල කියල දෙනවා. දැන් මනුස්සයා ලවා ඒ ටික ගෞරවයෙන් පිරිසිදුවට කරවන ගමන් බණ දහම් කියල අර වගේ ඥාති බතක් දෙනකොට, කිරි ආහාර පූජාවක් කරනකොට, පුණ්‍යානුමෝදනාවක් කරනකොට අමනුස්සයත් දැනගන්නවා උන්ට කන්න බොන්න දෙනවා, සළකනවා කියල.

ඉතින් ඔය විදිහට සම්බුද්ධ සාසනය මුල් කරගෙන බුද්ධ පූජාව ඇතුළු ඒ පූජාවන් සියල්ලම තියල, දෙතුන් සැරයක් ගාථා එහෙම කියල වන්දි ගෙවෙන්න පුණ්‍යානුමෝදනා කරනවා. ඒ සියල්ලම කරල, කෙලින්ම අර නොපෙනෙන ලෝකවල ඉන්න අමනුස්සයින්ට ඒ අයගෙ අවශ්‍යතාවයන් සම්පූර්ණ කරල දෙනවා. මනෝමය ඍද්ධි තියේ නම් ඒ අයට අවශ්‍ය දේවල් මවල දෙනවා. ඔය ටික කරල දානමාන දෙනකොට, අර පළිගන්න බලාගෙන හිටපු අමනුස්සයා හිතන්න බැරි විදිහට පරිවර්තනය වෙනවා. සමහරු චුති පටිසන්ධි වෙලාම නිදහස් වෙනවා. ඔය විදිහට ලොකු විපර්යාසයක් වෙනවා. ඉතින් පින් අනුමෝදන් කරල කමා කරගෙන ඒ සාසනික වත්පිළිවෙත් ධර්මානුකූලවත් සිද්ධ කළාට පස්සෙ අර ගනුදෙනුව පිය වෙනවා.

මනුස්ස ලෝකෙ කෙනෙක්ගෙ පණ ගියාට පස්සෙ තවත් කවුරු හරි ගුප්ත ලෝකයේ පිරිසක් සමග සම්බන්ධයක් ගොඩ නැගෙනවා. උදාහරණයක් විදිහට අපි දැන් ඉන්න ගමෙන් පිටවෙලා ගියොත් වෙනත් ගමක ලියාපදිංචි වෙනව වගේ. අන්න ඒ වගේ දෙයක් නොපෙනෙන ලෝකය තුළත් සිද්ධ වෙනවා. එතැනින් චුත වෙනවත් එක්කම නොපෙනෙන ලෝකයේ තවත් කණ්ඩායමකට බැඳෙන්න වෙනවා. මොකද එහේ ගිහින් තනියම ඉන්න බෑ. තම තමන් කරගත්ත දේවල් අනුව තවත් අය යටතෙ තමයි ඉන්න වෙන්නෙ. ඒ අනුව සාමාජිකත්වයක් ලැබෙනවා. හරියට හැමෝම ඡන්දය දාන්න ඕන කියල නීතියක් පැනෙව්වොත් අනිවාර්යෙන්ම මොන පක්ෂයකට හරි ඡන්දය දෙන්න වෙනව වගේ. දැඩි නීතියක් ගෙනාවොත් එහෙම කරන්න දෙයක් නෑ.

එතකොට ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ, රුවන්වැලි මහා සෑය වගේ විශේෂ පූජනීය ස්ථානවල අර වගේ පූජාවක් තියල පින් අනුමෝදන් කරනකොට ඒ දුක් විඳින අත්බැව්වල ඉන්න අය එතැනින් චුත වෙලා තවත් කණ්ඩායමකට බැඳෙනවා. ඊට පස්සෙ අර කරදරයට / මාරකයට පත්වෙලා හිටපු මනුස්සයගෙ ඒ ප්‍රශ්න බාධක සියල්ල විසඳෙනවා. එතකොට අර මාරකය පහනිනවා. මොකද දැන් පළිගන්න කවුරුවත් නෑ. ඔහු වටා තිබුන කළු කිරණ වළල්ල සුද්ධ වෙලා යනවා. කාලයක් යනකොට තවත් ඒ වගේ මාරකයක් ආවොත්, අර වගේම ප්‍රතිකර්මයකින් තමයි පන්නන්න වෙන්නෙ.

ඔන්න ඔය වගේ ක්‍රමවේදයක් අනුගමනය කරමින් තමයි මාරකයක් පන්නන්න ඕන. හැබැයි එහෙම මාරකයක් පන්නන එක ලේසියෙන් කෙනෙකුට කරන්න බෑ. ඒ පිළිබඳව වේලපහින් දැනුවත් වෙලා තියෙන්න ඕන. ඒ සමාධි, මනෝමය ඍද්ධි... ආදිය ප්‍රගුණ කරල අධ්‍යාත්මික ශක්තියක් ගොඩ නගාගෙන තියෙන්න ඕන. ඉතින් වහරක හාමුදුරුවො කියන්නෙ සසර පාරමිතා පුරාගෙන ඇවිත් පොඩි කාලෙ ඉඳන්ම මේ මනෝමය ඍද්ධි, සමාධි... ආදිය හොඳින් ප්‍රගුණ කරපු උත්තමයෙක්. හුග දෙනෙක් දන්නෙ නැති වුනාට ඒක පොඩි පහේ හැකියාවක් නෙවෙයි. ඒ විදිහට ප්‍රගුණ කරපු මනෝමය ඍද්ධිවලින් නොපෙනෙන ලෝකවල උදවියට විවිධ දේවල් මවල දීල ඒ අයවත් නිදහස් කරල, ඒ අයගෙන් මනුස්සයින්ට එන්න තිබ්බ්ච කරදර බාධක වළකපු අවස්ථා මේ සඟරාවෙ මීට පෙරත් ඕනෑ තරම් පළ කරල තියෙනවා. උන්වහන්සේ ඒ විදිහට සමාධි, මනෝමය ඍද්ධි... ආදිය ප්‍රගුණ කරපු ඒවා තමයි අපි මේ විස්තර කරල කියන්නෙ.

උදාහරණයක් විදිහට ඥාති බතක් දෙන හැටි කොළයක ලියල කියල දෙන්න ගියොත් අපිට ඒකට කොච්චර වෙලාව යනවද? හැබැයි වහරක හාමුදුරුවො ඒ නොපෙනෙන අමනුස්ස ලෝකවල අයත් එක්ක මනෝමය වශයෙන් සම්බන්ධ වෙලා කතාබහ කරල, ඒ අයගෙ අවශ්‍යතාවයන්ට අනුව ධර්මානුකූලව ඒ ඥාති

දාන දීල සාංඝික දානයක් දීල පුණ්‍යානුමෝදනාවක් කරල ඒ අයව නිදහස් කරල, ජීවත් වෙලා ඉන්න අයටත් කරදර බාධක මග හැරෙන හැටි විනාඩි ගණනකින් සමාධියට යොමු කරල බලල කියනවා. ඒ තරම් අධි වේගවත් ඒ මනෝමය ක්‍රියාවලිය. ඊට පස්සෙ ඔක දැන ගත්තම අපිට ඥාති බතක් උයල ඒ කටයුතු ඉතා පහසුවෙන් කරන්න පුළුවන්කම ලැබෙනවා.

එතකොට වහරක හාමුදුරුවො වගේ විශේෂ සමාධි, මනෝමය සෘද්ධි ප්‍රගුණ කරපු උත්තමයන් ඔය විදිහට තමයි කෙනෙක්ගෙ මාරක ඉවත් කරන්නෙ. ඔබට මේකෙන් බේරෙන්න නම් මෙන්න මේ ටික කරන්න කියල ධර්මානුකූලව විග්‍රහ කරල, අර සසර ගනුදෙනුව පියවෙන විදිහට ඒ ටික සේරම ගොනු කරල කරන්න ඕන ටික කියල දෙනවා. ඊට පස්සෙ ක්ෂණිකවම අධිෂ්ඨාන කරල, සියල්ලෙන් සියල්ල ලැබිල සුඛිත මුදිත වෙත්වා කිව්වම, සියලු සම්පත් ලැබිල අර කර්ම වේගය ගෙවිල යනවා. ඉතින් අනෙක් අයට ඒක ඒ විදිහටම කරන්න බැරි නිසා, ඒ මට්ටමේ ප්‍රගුණ කිරීමක් නැති නිසා, භෞතික වශයෙන් ඒ දේවල් සිද්ධ කරල අධිෂ්ඨාන කරල පින් අනුමෝදන් කරනවා. අපි ආයාසයෙන් ඒ ටික ගොනු කරල කපල කොටල හද හදා දෙනවා.

ඉතින් ඇත්තටම මේ මාරක පිළිබඳව නිවැරදිව කරුණු රටට ලෝකයට යනව නම්, මේ මිනිස්සුන්ට එන්න තියෙන ලොකු විපත්ති කරදරවලින් බේරෙන්න පරිසරයක් හැදෙනවා. අකාලෙ දුක් විඳල මැරෙන්න ඕන නෑ. නමුත් අපිට මේක ගෙඩිය පිටින් එක පාරටම කියල දෙන්න බෑ. මොකද එහෙම කියල දෙන්න සිද්ධ වෙලා තියෙන්නෙ වටිනා දහම් අර්ථ, දහම් ක්‍රමවේද යටපත් වෙලා නොයෙක් විපරීත අදහස්වලින් පිරිච්ච පිරිසක් ඉන්න යුගයක. ඒ නිසා වටපිටාවත් බලල හදාගෙන ක්‍රමානුකූලව සාක්ෂි සහිතවයි ඒ කතන්දර හේතු ඵල ගලපල විද්‍යානුකූලවත් ධර්මානුකූලවත් ඉදිරිපත් කරන්න ඕන. එතකොට තමයි නැණ නුවණ තියෙන අයට ඒක පහසුවෙන් තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ. එහෙම නැතිව නිකම්ම මේක මෙහෙම වෙනවා කියල කියන්න ගියොත්, මිනිස්සුන්ට ගොඩක් ප්‍රශ්න එනවා. එහෙම වෙන්නෙ කොහොමද, එයා කොහොමද මාරකයක් පන්නන්නෙ... ඔය ආදී වශයෙන් ප්‍රශ්න කරනවා. ඒ නිසා ඒ ක්‍රමවේදය හේතු ඵල ගලපල කියන්න දැනගෙන ඉන්න ඕන.

ඉතින් මේ කතා වස්තුවට සම්බන්ධ සංඝාර පිංකම ගත්තම, අපි දන්නෙ නෑ මේ කියන මුදලාලි මහත්තයගෙ කර්ම විපාකය කොහොම තිබුනද කියල. අපි හිතමු කෙනෙක් තවත් කෙනෙකුට කතා කරන්න බැරි වෙන්න දිවකුරු බන්ධනයක් කළා කියල. සමහර විට ඒ වගේ කර්ම වේගයක් ගෙවා හරින්න සම්බුද්ධ සාසනය වෙනුවෙන් ශබ්ද පූජාවක් කරන්න ඕන වෙන්න පුළුවන්. නමුත් ඒ අවස්ථාවෙදි මේ ගැන වහරක හාමුදුරුවන්ගෙන් කවුරුවත් ප්‍රශ්න අහල නෑ. එහෙම ඇහුව නම් උන්වහන්සේ උත්තර දෙනවා. එහෙම අහපු නැති එකයි ගැටළුව. සමහරවිට කෙනෙක්ගෙ කනට ගහපු එකක්, ශබ්දයට බාධා කළ එකක් වෙන්න පුළුවන්. කෙනෙකුට නිදහසේ ඉන්න තිබ්බ්ච අවස්ථාව නැති කළා වෙන්න පුළුවන්. එහෙම නැත්නම් බණක් දහමක් කියන කෙනෙකුට බාධා කළා වෙන්න පුළුවන්. ඒ අවස්ථාවෙදි ඒකෙන් භෞතික කයේ මරණයක් නොවුනත්, පසු කාලීනව මාරාන්තික දෙයක් බවට පත්වෙන්න පුළුවන්. එහෙම නැත්තම් මරණයක් හා සමාන කම්පනයකට ගොදුරු වෙන්න පුළුවන්. ඔය වගේ මොනව හරි කරපු කර්මවේගයක විපාකයක් එනකොට, වහරක හාමුදුරුවො ඒක ගෙවා ගන්න ශබ්ද පූජාවක් නියම කළා වෙන්න පුළුවන්. දැන් ඔය සද්දෙන් කතා කරන අයට ගමේ ගොඩේ භාෂාවෙන් කියන්නෙත්, අහවලා සංඝාර පූජා කරල කියල. ඒ නිසා අපි දන්නෙ නෑ වහරක හාමුදුරුවො මොන හේතුවක් මත ඒක කිව්වද කියන්න. ඒ නිසා අපිට හේතු ඵල පැත්ත අනුසාරයෙන් තීරණය කරන්න පුළුවන්, මේ වගේ දෙයක් සිද්ධ වෙන්න ඇති කියල.

දැන් මේ හේවිසි පූජාවත් ඒ වගේ දෙයක්. විශ්වයට විසාල සුද්ධ කිරණක් නිකුත් කරන ක්‍රමවේදයක්. නැත්නම් මෙච්චර කාලයකට ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ ළඟ, රුවන්වැලි මහා සෑය ළඟ, දළඳා වහන්සේ ඉදිරිපිට සතෙක්ගෙ හංකඩයකට ගහයිද? සංඝාරයක් ගැහුවත් යකඩයකට තමයි ගහන්නෙ. දැන් ඔය සමහර ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේලා හේවිසි ගහනවට තදින්ම විරුද්ධයි. එකක් පරිසරය ශබ්ද වෙනව කියල. අනෙක් පැත්තෙන් කියන කතාවක් තමයි, බුදු හාමුදුරුවො ළඟට ගිහින් මේ සතෙක්ගෙ හංකඩයකට ගහනව කියල. නමුත් වහරක හාමුදුරුවො මෙන්න මේකෙන් මේ වගේ ක්‍රියාවලියක් සිද්ධ වෙනව කියල ඒකෙ තියෙන ධර්මානුකූල පැත්ත පෙන්වනවා. මේ සතා ලෝකයට කරපු අසාධාරණයට විශ්වය සුද්ධ වෙන ක්‍රමයක්. වහරක හාමුදුරුවො ඒක විශේෂ පූජාවක් හැටියට හේතු ඵල ගලපල පෙන්වනවා. එතකොට අතීතයේ ඉඳන් දළඳා වහන්සේට හේවිසි පූජා කළේ, ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේට හේවිසි පූජා කළේ මොකටද, ඒ විරුද්ධව කතා කරන අයට ඒක තේරෙන්නෙ නැත්ද කියල වහරක හාමුදුරුවො අහනවා. ඉතින් දන්නෙ නැති අය නොදන්නාකමට එහෙම කියනව කියල කියනවා.

ඒ වගේ මේ විශ්වයට, පරිසරයට සෙත් කිරණ ශක්තියක් මුදා හැරල ශබ්ද තරංගවලින් පරිසරය සුද්ධ කරල ඒ සතුන්ගෙ ණය ගනුදෙනු පියවන ක්‍රමයක් තමයි මේ සිද්ධ කරන්නෙ. එතකොට දැන් අපි දන්නෙ නෑ මේ පුද්ගලයගෙ කර්ම විපාකය මොකක්ද කියන්න. ඒ නිසා සම්බුද්ධ සාසනයට සංඝාර කුළුණක් පූජා කරල බුදුන් වහන්සේට ශබ්ද පූජාවක් තියල ඒ පාපය ගෙවා ගන්න ක්‍රමයක් තමයි උන්වහන්සේ පෙන්වා දුන්නෙ. ඒකෙන් මාරකය පැන්න කියලත් ඔප්පු වුනා. ඒ කියන්නෙ උන්වහන්සේ දීපු ප්‍රතිකර්මය සාර්ථකයි. හැබැයි මේ වගේ පිංකමක් කරල තමන්ගෙ මාරකයක් පන්නගෙන, ජීවත් වෙලා ඉන්න ඉතිරි ටික කාලයට නිකං කාල බීල ඉන්න එක නෙවෙයි කරන්න තියෙන්නෙ. මේ වගේ කැපෙන්න කෙටෙන්න, මැරෙන්න, දුක් විඳින්න හේතු වෙන ලෝකයක තමයි දිගටම ඉන්න වෙන්නෙ කියන කාරණය ධර්මානුකූලව තේරුම් අරගෙන මේ භයානක සසරින් පැන ගන්න උත්සාහ කරන්න ඕන. මාරකයක් පන්න ගත්තොත් ඊළඟට වහාම කරගත යුත්තේ ඒකයි.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පොතපතින් ඔබ්බට...

03 කොටස

## ත්‍රිපිටක අන්තර්ධානය / කාසාවකණ්ඨකයෝ

මේ බුද්ධ සාසනයේ මුලින්ම අධිගම අන්තර්ධානය සිද්ධ වෙනවා. ඊට පස්සෙ ත්‍රිපිටක අන්තර්ධානයත්, ඊළඟට ලිංග අන්තර්ධානයත් සිද්ධ වෙනවා. ධාතු අන්තර්ධානය තමයි අවසානයට සිද්ධ වෙන්නෙ. එතකොට කාසාවකණ්ඨක කියල අන්තිමට කහ නූලක් අතේ බැඳ ගත්ත අය ඉන්න කාලයක් එනවා. ඒ කාලෙට ඒ අය තමයි සාසනයේ භික්ෂු සංඝයා නියෝජනය කරන්නෙ. ඒ අය පවුල් ජීවිත ගතකරන, රැකීරක්ෂා කරන, නමුත් කහ නූලෙන් තමයි භික්ෂූන් කියල හඳුන ගන්නෙ. මේ කියන කාලය එනකොට ත්‍රිපිටක පෙළ දහම අන්තර්ධාන වෙනවා. ඒ කියන්නෙ ඇතෙක් බරට වස්තුව වෙන් කරල දෙනව කියල හැමතැනම අඬබෙර ගැහුවත්, එක බුද්ධ ගාථාවක්වත් අර්ථවත්ව විග්‍රහ කරන්න පුළුවන් කෙනෙක් හොයාගන්න නැතිව යනවලු. මෙතැනදි ත්‍රිපිටකය අන්තර්ධාන වෙනවා කියන්නෙ, ඒ කාලෙට එක ගාථාවක්වත් අර්ථ විග්‍රහ කරන්න පුළුවන් කිසිම කෙනෙක් නෑ කියන එක. හැබැයි මේ කියන කාසාවකණ්ඨකයො ඉන්න කාලයටත් මේ බුද්ධ සාසනයේ මහත්ඵල මහානිසංස දානයක් දෙන්න පුළුවන්. මොකද සඟ පරපුර කහ නූලෙන් හරි නියෝජනය වෙනවා. ඒ නිසා සාසනය උදෙසා දන් දෙන්න පුළුවන්.

එතකොට කාසාවකණ්ඨකයන්ගෙන් පස්සෙ ලිංග අන්තර්ධානය සිද්ධ වෙනවා. ඒ කියන්නෙ අන්තිම කාසාවකණ්ඨකයත්, මම විතරක් මොකටද මේක බැඳගෙන ඉන්නෙ, මේකෙන් මට වැඩක් නෑ කියල ඒකත් ගලවල විසි කරනවා. එදාට ආයෙත් ඒක දාන්න කෙනෙක් නෑ. ඊට පස්සෙ ඒ කහ නූල තමන් තනියෙන් දාගත්තට හරියන්නෙ නෑ. ඒ භික්ෂු පරපුරත් එක්ක සම්බන්ධ අන්තිමයා තමයි ඒ. එයින් එහාට පරපුරක් නැතිව යනවා. මොකද ඒ කාලෙට කහ නූලෙන් තමයි මහණ කරන්නෙ, උපසම්පදා කරන්නෙ. ඒ කහ නූලත් කඩල දැම්මට පස්සෙ නැවතත් තමන්ට අයිතියක් නෑ ඒක තනියෙන් දාගන්න. ඊට පස්සෙ සංඝ කියන නාම මාත්‍රයත් නැති වෙලා යනවා.

ඉතින් මේ කියන කාලෙටත් දහම වෙනුවට තමන්ගෙ මතිමතාන්තර දෙනවා. නමුත් වැඩිහරියක් ගත්තම, දහම අහන්න කෙනෙකුත් නෑ, කියන්න කෙනෙකුත් නෑ. පවුල් ජීවිත ගත කරන ගමන් ගොවිතැන් කටයුතු කරගෙන කවුරුහරි දෙන දෙයක් දානෙ කියල ගන්නවා. කාසාවකණ්ඨකයන්ගෙ අවසානය වෙනකොට ඒ දානෙත් ඉවරයි. කවුරුවත් සලකන්නෙ නෑ. මොකුත් දෙන්නෙ නෑ. අපි බෞද්ධ කාටහරි දානයක් දෙමු කියල ඒ වගේ අය හොයල දානෙ ගෙනත් දෙන එකත් අන්තිමට නැති වෙනවා. අන්න අර කහ නූලත් කඩල විසිකරපු දාට තමයි ඒක සිද්ධ වෙන්නෙ. ඒ කියන්නෙ ශ්‍රමණ ලිංගයත් අන්තර්ධාන වෙන කාලය. ඊට පස්සෙ ශ්‍රමණ කියල අඳුනගන්න කවුරුවත් නෑ.

ඉතින් මේ වගේ කාලයක් ඉදිරියෙදි එනවා කියන එක මේ දහමේ පෙන්වා තියෙනවා. ඒක දැන් වුනත් ප්‍රායෝගිකව ඇත්තයි කියල තේරුම් ගන්න පුළුවන්. මොකද දැන් මේ බුදුන් වහන්සේ පහළ වෙලා පිරිනිවන් පාල අවුරුදු දෙදහස් පන්සියයක් තුල වෙච්ච විපරීතයත් මේ වගේ නම්, තවත් ඒ වගේ කාලයක් යනකොට වෙන දේ හිතාගන්න පුළුවන්. **අනන්ත සංසාරයත් එක්ක බලද්දි අවුරුදු දෙදහස් පන්සියයක් කියන්නෙ ඉතා කුඩා කාලයක්. ඒ නිසා අපි බෞද්ධයො කියල පොත් ටිකයි පන්සල් ටිකයි බදාගෙන උදම් අන අනා හිටියට වැඩක් නෑ. එහෙම උදම් අනන්න වෙන්නෙත් ටික කාලයයි. මේ අනන්ත සංසාරයේ ඇහිපිය ගහන මොහොතක් තරම් ඉතා සුළු කාලයක් තමයි බුද්ධ සාසනයක් විද්‍යමානව පවතින්නෙ. ඒ තරම් අති දුර්ලභයි. ඒකෙනුත් මගඵල අවබෝධ කරල නිවන් දැකල මේ සසරෙන් ගොඩ යන්න තියෙන දහම විද්‍යමානව පවතින්නෙ තවත් කෙටි කාලයයි. ඒ නිසා මේ කාරණයේ තියෙන බැරෑරුම්කම තේරුම් අරගෙන මේ දහම නැවතත් මතු වෙච්ච වෙලාවෙ හැමෝම පුළුවන් තරම් ඉක්මනට දහම් ශ්‍රවණය කරල ගොඩ යන්න උත්සාහ කරන්න කියන එක තමයි කියන්න තියෙන්නෙ. නැත්නම් පසුතැවිලි වෙන්න සිද්ධ වෙනවා.**

එතකොට පංච භය වෛර සූත්‍රයේ තියෙනවා, මේ දහම රැක රැක ඉන්න නෙවෙයි තමන්ගෙ වැඩේ කරගන්නයි තියෙන්නෙ කියල. අනෙක් පැත්තෙන් කියනවා, අපේ ථේර පරපුර මේ ත්‍රිපිටක පෙළ දහම රැකගෙන ආව කියල. දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, ඒ කතා දෙකේ පරස්පරයක් තියෙනවා කියල.

නමුත් මේ කියන කාරණය තැනට සුදුසු විදිහට නුවණින් තේරුම් ගන්න ඕන. යම්කිසි පරපුරක් විසින් ත්‍රිපිටක පෙළ දහම මුඛ පරම්පරාවෙන් රැකගෙන ආව නම් ඒ තමයි ථේර පරපුර. එතකොට ධර්මය සංඝායනා කරලයි ගෙනියන්න කියල තියෙන්නෙ. සිව්පිළිසිඹියාපත් මහ රහතන් වහන්සේලා නැතිව ධර්ම සංඝායනා කරන්න බෑ. ඒ විදිහට දහම් අවබෝධය ලබල ප්‍රගුණ කරල මුඛ පරම්පරාවෙන් තමයි ගෙනියන්න කියල තියෙන්නෙ.

එතකොට ඒ කාරණය වෙනයි. දහම් අවබෝධයක් ලබන්නෙ නැතිව, ප්‍රගුණ කරන්නෙ නැතිව, භෞතික දේවල් රැකගෙන ඉන්නවා කියන එක වෙනයි. නමුත් ඉදිරි කාලයේදි මේ දහම් අවබෝධය ලබල ප්‍රගුණ කරන්නත් විදිහක් නැතිව යනවා. මොකද දහම යට යනවා. ඒ නිසා ලැබෙන අවස්ථාවෙන් මගඵල අවබෝධ කරගන්න උත්සාහ කරන්න. අර වගේ මහා බාධා එනකොට ඒ ගැන කෑ ගහගෙන ජීවත් එක්ක ගහ මරා ගන්න යන්න එපා, තමන්ගෙ වැඩේ ඉක්මනින් කරගන්නයි අවස්ථානුකූලව පෙන්වල තියෙන්නෙ. ගොඩනැගිලි, වෙහෙර විහාර විනාස වෙන්න පුළුවන්. නමුත් ඒවා විනාස වෙන්නෙත් මේ සාසනයේ වැඩවලින් නෙවෙයි, බාහිර අයගෙ වැරදි ආකල්ප නිසා එන වැඩවලින්. එහෙම නැත්නම් ලෝකයේ සියල්ලටම පොදු අනිත්‍යතාවය අනුව කාලයක් යනකොට ඒවාට හිමි ආයුස ගෙවිල ස්වභාවිකව විනාස වෙන්න පුළුවන්. ඒ නිසා මේ කෝක වුනත් සදාකාලිකව රැක ගන්න පුළුවන් කිසිම දෙයක් නෑ. ඒ කාරණය තේරුම් අරගෙන මේ ලැබිච්ච දුර්ලභ අවස්ථාවෙන් ඵල ප්‍රයෝජන ගන්න උත්සාහ කරන්න ඕන කියන එකයි මේ කියන්නෙ.

## තුන්කල් නුවණ තිබුණ බුදු පියාණන් වහන්සේ, ශාක්‍ය කෝලිය යුද්ධය නතර කරන්න බැරි බව දැනගෙනත් තුන් වතාවක් වැඩියේ ඇයි?

කෙනෙකුට එහෙම ගැටළුවක් එන්න පුළුවන්. නමුත් මෙතැනදි අපි දැනගන්න ඕන කාරණා කිහිපයක් තියෙනවා. එකක් තමයි යුද්ධයක් තියෙනකොට තුන් වතාවක් අහන සිරිතක් තියෙනවා. ඒක ඉස්සර ඉඳන්ම තිබුණා. අපි කෙනෙකුට යමක් කියන කොටත් එක පාරක් කියල හරියන්නෙ නැත්නම් තුන් වතාවක් කියන සිරිතක් තියෙනවා. නමස්කාරය කිව්වත්, සාධුකාරයක් කිව්වත්, ගාථාවක් කිව්වත් තුන් වතාවක් කියන සිරිතක් තියෙනවා. මොකද තුන් වතාවක් කියනකොට තමයි ලෝකයාට යමක් වැටහෙන්නෙ, තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ. තුන් වතාවකින් උරුම වෙනවා කියන එක තමයි තේරුම කියන වචනයෙන් කියන්නෙත්.

ඉතින් මෙතැනදිත්, යටත් වෙනවද නැත්ද කියල ඒ විදිහට තුන් වතාවක් ප්‍රතිඥාවක් යවල ඒකට උත්තරයක් දුන්නෙ නැත්නම් තමයි යුද්ධෙ පටන් ගන්නෙ. අන්න ඒ වගේ තුන් වතාවක් නිදහස් වෙන්න අවස්ථාවක් කර්ම වේගය අනුවම ඒ ශාක්‍ය කෝලිය යුද්දෙදිත් තිබිල තියෙනවා. ඒ නිසා ඒක නවත්වන්න බුදුන් වහන්සේ උන් වහන්සේට ගන්න පුළුවන් උපරිම උත්සාහය දැරුව නම්, තුන් වතාවක් වැඩම කිරීම ඒ නිසාම සිද්ධ කළා වෙන්න පුළුවන්. හැබැයි උන්වහන්සේ ඒ කාරණයත් නුවණින් දකිනවා.

දැන් මේ ගඟක වතුර ප්‍රශ්නයක් මුල් කරගෙන ඒ යුද්ධය පටන් ගත්තයි කියනවා. හැබැයි ඒකට හේතුව එදා වෙච්ච සිද්ධියක්ම නෙවෙයි. ඊටත් පෙර මුල් කාලෙ සිදුවීමක්. ඉතින් කොයි ක්‍රමයකට හරි සටනක් ඇති වුනානම් තුන් වතාවක් අවස්ථාව දෙනවා බේරෙන්න, යටත් වෙන්න නැත්නම් මරනවා කියල. මෙතැනත් වුණේ ඒ වගේ දෙයක්. එතකොට ඒ වගේ අවස්ථා තුනක් එනකොට බුදුන් වහන්සේ මැදිහත්වෙලා ඒ අවස්ථා තුනේදිම බේරල දුන්නා. එහෙම බේරන්න පුළුවන් විදිහටයි ඒ අවස්ථා තුනේදිම කර්මය යෙදිල තිබුණෙ. ඉතින් තුන් වතාවෙන් එහාට කරන්න දෙයක් නෑ. ඊට පස්සෙ සටන පටන් ගත්තා. එතකොට ශාක්‍යයො කිව්වා, කවුරුවත් මරන්න එපා, ප්‍රාණඝාත කරන්නෙ නැතිව බැරිම තැන මැරුම් කාල නිකං ඉමු කියල. ඉතින් ආයුධ දාල නිකං හිටියා. එතකොට කෝලියො මොකද කළේ, පොඩි එකාගෙ පටන් ශාක්‍ය පරපුරම විනාස කළා. අන්තිමට ඒ අය ගිහින් ගංගානම් ගඟේ ජය පැන් බිව්ව කියනවා. එතකොට මහා අකල් වැස්සක් වැහැල මහා ගංවතුරක් ඇවිත් පිරිසම මුහුදට ගහගෙන ගිහින් කවුරුවත් ඉතිරි වුණේ නෑ කියනවා. අන්තිමට ශාක්‍ය කෝලිය දෙගොල්ලොම ඉවරයි. ඒ කාලෙ පැවිදි වෙලා හිටපු ශාක්‍යයො විතරයි ඉතිරි වුනේ.

ඉතින් බුදුන් වහන්සේ තුන් වතාවක් වැඩිය නිසයි මුලින් වෙන්න ගිය හානිය අවම වුණේ. ඒ නිසා උන්වහන්සේ ගමන් තුනක් වැඩිය කියල ඒක නිෂ්ඵල වුණේ නෑ. එහෙම හේතුවක් තිබිච්ච නිසයි උන්වහන්සේ තුන් වතාවක් වැඩල බේරල දුන්නෙ. මොකද මුලදිම තුන් වතාවක සම්බන්ධයක් තියෙන නිසා ඒ තුන් වතාවෙම බේරන්න හේතු වාසනා තිබුනා. නමුත් උන්වහන්සේ තුන් කල් නුවණින් දකිනවා, මේක මෙහෙමයි අවසානයට වෙන්නෙ කියල. ඒක නොදන්නවා නෙවෙයි. නමුත් කර්ම වේගය අනුව ප්‍රමාද කරන්න පුළුවන් උපරිමය කරල දුන්නා. මොකද ඔය විදිහට තාවකාලිකව හරි උන්වහන්සේ වැඩල බේරුව හැම අවස්ථාවකදිම කවුරුහරි උන්වහන්සේ කෙරෙහි චිත්ත ප්‍රසාදයක් හරි ඇති කරගත්තනම්, යම්කිසි දහම් අවබෝධයක් ලැබුව නම්, ඒකත් මහා වටිනා දෙයක්. එහෙම තාවකාලිකව හරි බේරිච්ච අය අතර සමහර විට ඒ කෙටි කාලය තුළ දහම් අවබෝධයක් ලබපු අය ඉන්න පුළුවන්. එතකොට ඒකත් මහා හේතු වාසනාවක්. කොහොමත් හේතුවක් නැතිව උන්වහන්සේ නිශ්ඵල ගමනක් වඩින්නෙ නෑ.

අනික තමයි හේතුඵල දහම අනුව ගත්තම උන්වහන්සේටත් ඒ සඳහා කර්ම වේගයක සම්බන්ධයක් තියෙන්න ඇති. මොකද ඒ විදිහට වැඩම කරල සමතයට පත්කරන්න උත්සාහ කිරීමත් උන්වහන්සේට වෙහෙසක්. එතකොට උන්වහන්සේත් ශාක්‍ය පරපුරේ කෙනෙක්. උන්වහන්සේ පාරමිතා පුරන කාලයේ සසරේ එකට පසුපස ආපු පිරිසක් ඒ අතර හිටියා. එතකොට ඒ අය වෙනුවෙනුත් යමක් කළ යුතුයි. ඒ වගේම කෝලීය වංශිකයො මොන විදිහකින් හරි බුදු ගුණයට ගරු කළා. ඒ නිසා තමයි ශාක්‍යයන්ගේ පැවිදි පිරිස මැරුවෙ නැත්තෙ. ගිහි අයව විතරයි මැරුවෙ.

එතකොට අංගුලිමාල මිනිස්සු 999 ක් මරණ කල් බුදුන් වහන්සේගේ බුදු ඇසට යොමු වුණේ නැත්ද කියල ඔය වගේම ප්‍රශ්නයක් අහන්න පුළුවන්. ඒ කාරණයත් උන්වහන්සේගේ මහා කරුණා සමාපත්තියට යොමු වුනේ සුදුසු වෙලාවෙදි. මහා කරුණා සමාපත්තියට සමවැදිල උන්වහන්සේ බලනවා, අද කාටද ලෝකයේ සෙතක් කරන්න පුළුවන් කියල. එතකොට සුදුසු අය තමයි සුදුසු කාලයෙදි යොමුවෙන්නෙ. ඉතින් එහෙම බලනකොට අංගුලිමාලව උන්වහන්සේට යොමු වෙච්ච අවස්ථාව තමයි ඒ.





මෙතැනදි කර්ම විෂය අචින්ත්‍යයි කියන කාරණයත් තේරුම් ගන්න ඕන. ඒක වෙන්න තියෙන ආකාරය බුදුන් වහන්සේට පේන නිසාම උන්වහන්සේ නිශ්ඵල දේකට අත ගහන්නෙ නෑ. කෙරෙන්න ඕන උපරිමය දැනගෙන තමයි ඒ විදිහට කටයුතු කරන්නෙ. අසාර්ථක දෙයක් කරන්නෙත් නෑ. ඒ අවස්ථානුකූලව මොනව හරි සාර්ථකත්වයක් තියේ නම් ඒ මට්ටම බලාගෙනයි කටයුතු කරන්නෙ. උන් වහන්සේ ඒ විදිහට කටයුතු කරපු නිසා එදා ශාක්‍ය කෝලිය යුද්ධය අවස්ථා තුනකදි තාවකාලිකව හරි වැළකුණා. ඒ නිසා ඒ සිද්ධිය මේ වගේ කරුණු ගණනාවක් එකතු වුන බහු හේතුක දෙයක් මිසක් එක හේතුවකින් විග්‍රහ කරන්න පුළුවන් දෙයක් නෙවෙයි.

ඒ වගේම තවත් තැනක අයියයි මල්ලියි දෙන්නෙක් මහණ වෙච්ච අවස්ථාවක් ගැන සඳහන් වෙනවා. එතැනදි මහණ වුණ එක හාමුදුරුවො නමකට දානය දෙන්න කියල බුදුන් වහන්සේගෙන් අවසර අරගෙන ආපසු ගෙදරට අඬ ගහගෙන ගියා. ගියාට පස්සෙ ගෙදර උදවියයි නෑදෑයොයි එකතු වෙලා මොකද කළේ, බලහත්කාරයෙන් සිවුරු ගලවල ගිහි ඇඳුම් අන්දවල යන්න එපා කියල තියාගත්තා. ඊළඟට අනික් හාමුදුරුවොත් දානෙ දෙන්න කියල ගෙන්වගන්න බුදුන් වහන්සේගෙන් අවසර ඉල්ලුවා. අවසර දුන්නම උන්වහන්සේවත් එක්කගෙන ගිහින් අර විදිහටම අල්ලල සිවුරු ගලවන්න හදනකොට ඍද්ධි බලයෙන් ආකාසයට නැගිල නැවත යන්න ගියා. මොකද උන්වහන්සේ අරිහත්වයට පත් වෙලා ඇවිත් තියෙන්නෙ. ඉතින් භික්ෂූන් වහන්සේලා බුදුන් වහන්සේගෙන් අහනවා, ඉස්සෙල්ල එක්කෙනෙක් ගෙනිහින් සිවුරු ගැලෙව්වට පස්සෙ ඇයි අනෙක් කෙනාවත් එක්කගෙන යන්න අවසර දුන්නෙ කියල. දැන් මෙතැනදිත් අර ප්‍රශ්නයම එනවා. ඉතින් උන්වහන්සේ ඒක සුදුසු පරිදි සිද්ධ වෙයි කියන එකයි පෙන්නුවෙ. මොකද ඒ දෙවනියට අරගෙන ගිය භික්ෂූන් වහන්සේගේ ප්‍රාතිහාර්ය දැකල ඒ ගෙදර අයගෙ හිත වෙනස් වෙන කාරණයත් උන්වහන්සේ දකිනවා. ඒ කාරණය එහෙම වෙනවා, මේ කාරණය මෙහෙම වෙනවා. ඒ තමයි කර්ම වේගවල හැටි.

## බුදු ගුණ ජීවම

මම මහණ වෙන්න පෙර, ගිහිවතේ ඉන්නකොට සාසනික ක්‍රමවේද අනුගමනය කරමින් ගෙවල් ආදියේ දොස් කපන්න නවගුණ ගාථාව තමයි ගත්තෙ. ඒක හරියටම හරි. බොහොම සාර්ථකයි. මේ තියෙන්නෙ ඒ ජීවම් ගාථාව,

**ඉතිපි සෝ භගවා අරහං සම්මා සම්බුද්ධෝ විජ්ජාචරණ සම්පන්නෝ සුගතෝ ලෝකවිදූ අනුත්තරෝ පුරිස ධම්ම සාරථී සත්ථා දේව මනුස්සානං බුද්ධෝ භගවාති.**

**ඒතේන සච්ච වජ්ජේන**
**සබ්බ රෝග විනස්සතු**
**සබ්බ භය විනස්සතු**
**සබ්බ වින විනස්සතු**
**සබ්බන්තරාය විනස්සතු**
**වින බන්ධන විනස්සතු**
**ඒතේන සච්ච වජ්ජේන**
**සොත්ති මේ හෝතු සබ්බදා**
**සොත්ති තේ හෝතු සබ්බදා**

මෙතැන "ඒතේන සච්ච වජ්ජේන" කියන කොටස වෙනුවට "බුද්ධරතනානුභාවේන"/ "සබ්බ බුද්ධානුභාවේන" කියල පසුකාලීනව එහෙමත් ගත්තා. නමුත් මුලින් සෙත් කරන්න ගත්ත ක්‍රමය තමයි මේ. මෙතැනදි "සොත්ති තේ" කිව්වම අනුන්ටයි තමන්ටයි ඔක්කොටම සම්බන්ධ වෙන නිසා "සොත්ති මේ" කියල තමන්ට වෙනම කියන්න අවශ්‍යත් නෑ. නමුත් හැමෝටම ඒ ගැන අවබෝධයක් නැති නිසා ඒ දෙකම ඉහත ආකාරයට කියන එක තමයි සුදුසු.

ජීවම් කරනකොට ඒ කාලෙ ගෙවල් දහයක් විතර එකතු වෙනකල් ඉඳල තමයි කරන්නෙ. ගෙවල් සියල්ලෙම තියෙන කොඩිවින ආදී දෝස සියල්ලම මේකෙන් කැපෙනවා. ඉතින් ඒ ගෙවල්වලින් වෙන වෙනම පොල්තෙල්, මුහුදුවැලි, සුවඳ දුම්, පැන් ආදිය ගෙන්ව ගන්නවා. ඒ විදිහට ගෙන්වගෙන ගෙවල් දහයක විතර ඒවා ලොකු කදකට වෙන වෙනම හදනවා. ඒ කියන්නෙ තෙල් බෝතල් සියල්ලම එකතු කරල බෝතල් විසිපහක තිහක බැරල් එකකට, එහෙම නැත්නම් ලොකු බෝතලයකට දාල ඒක වෙනම තියාගන්නවා. ඒ විදිහට පැන් ටිකත් වෙනම එකතු කරල ලොකු පැන් බෝතලයක් වෙනම හදනවා. ඒ විදිහටම මුහුදු වැලි, සුවඳ කුඩු වෙන වෙනම ගොනු කරනවා.

ඊට පස්සෙ සියල්ලටම ඉරටු කූරු ගහල, සියල්ලේම නූල ඔතල අතට අරගෙන සියල්ලම අර ගාථාවෙන් සෙත් කරනවා. සම්පූර්ණ සුද්ද වෙලා දර්ශනය පේනකල්ම ජීවම් කරනවා. සමහර වෙලාවට ජීවම් වාර පන්දාහ දහදාහ පනිනවා. ජීවම සම්පූර්ණ වුනාම තෙල් බෝතලයෙන් බුද්ධ රූපය ලස්සනට දර්ශනය වෙනවා. එහෙම නැත්නම් ලස්සන ප්‍රදේශයක් දර්ශනයට වැටෙනවා. මල් වත්තක් වගේ ඉතා දීප්තිමත් වෙලා සම්පූර්ණ සුද්ද වෙච්ච ප්‍රදේශයක් දර්ශනය වෙනවා. එහෙම දර්ශනය වුණා කියන්නෙ ජීවමේ බල පිහිටියා කියන එක. ඒක ආයාසයකින් තොරව නිකම්ම පේන්න පටන් ගන්නවා. බුද්ධ රූපය හරි ලස්සනට සුදු පාටට පේන්න පටන් ගන්නවා. ඒ රූපය බුද්ධ ප්‍රතිමා වහන්සේලාටත් වඩා ඒ තරමටම ශාන්තයි. මුහුණ, ශරීරය දැක්ක ගමන් පුදුම ශාන්තියක් ඇති වෙන්නෙ. මස් ලේ ඇහැටම පේනවා. හරියට අඳුන් බලනව වගේ තමයි පේන්නෙ. ඒ කියන්නෙ බෝතලයෙන් ඉස්සරහට ඇවිත් ඔප් නැංවිලා (එම්බෝස්) වගේ හරි ලස්සනට සජීවී දර්ශනයක් වගේ පේනවා. අන්න ඒ මට්ටමේ දර්ශනයක් ආවම ජීවම නතර කරනවා. නතර කරල පුය (සම්බේ බුද්ධා බලප්පත්තා...) කරල සිද්ධි (අභිවාදන සීලිස්ස...) කරනවා. එච්චරයි. (13 සඟරාවේ සඳහන් ආකාරයට).



ඊට පස්සෙ මේ ජීවමට මූලික වෙච්ච මගෙයි ඒ සංවිධාන කටයුතු මෙහෙයවල උදව් කරපු අනෙක් මහත්වරු දෙන්නගෙයි ගෙවල්වල ඉස්සෙල්ලම පහන් තුනක් පත්තු කරනවා. ඒක තියල ඉවර වුනාට පස්සෙ තමයි අනෙක් අයට බෙදල දෙන්න. ඉතින් ඒ හැම ගෙදරකම තියෙන දෝස සියල්ලම කැපිල යනවා, මුකුත් ඉතිරි වෙන්නෙ නෑ. ඔය තෙල් අරගෙන ගිහින් දවස් තුනක් පහන් පත්තු කරන කොට එක්තරා නිවසක තිබිච්ච මහා ප්‍රබල අමනුස්ස බන්ධනයක් සම්පූර්ණයෙන්ම කැපිල ගියා. ඒ තෙල් අපි දීලත් නෙවෙයි, කෙනෙකුට දීපු තෙල්වලින් ඒ ගෙදර අයත් ඉල්ලගෙන ගිහින් පත්තු කරල තියෙන්නෙ. අන්තිමට කිසිම ප්‍රශ්නයක් නෑ, බන්ධනය කැපිල ගියා. ඉතින් ඔය නවගුණ ගාථාවෙන් කරන ජීවම ඒ තරම් මහා බලවත්.

කොහේ හරි දෝසයක් තියේ නම් මේ ගාථාවෙන් 1008 වාරයක් ජීවම් කරල පහනක් පත්තු කළාම හුගක් හොඳයි. රෑ දවල් දෙකේම ඒ ස්ථානවල බුදු පහනක් තියෙන තැනක් නම්, ඒ ආසන්නයේ හරි බ්‍රහ්ම පාදය ළඟට වෙන්න හරි ඔය විදිහට සෙත් කරපු තෙල්වලින් පහනක් පත්තු කළාම ඒ දොස් කැපිල යනවා. ඒක ව්‍යාපාරික ස්ථානයකට හෝ නිවසකට හෝ ඕනෑම තැනකට කරන්න පුළුවන්. සාමාන්‍ය නිවසක් නම් ආරක්ෂක පහනක් විදිහට එක පහනක් පත්තු කළාම ඇති. මහා විසාල ව්‍යාපාරික ස්ථානයක් නම් කිහිපයක් පත්තු කළාම හොඳයි. මේක ආරක්ෂක පහනක්/දොස් කපන පහනක්. ගේ මැද බ්‍රහ්ම පාදයේ ඕනෑම තැනක, එහෙම නැත්නම් දේව පාදයේ හෝ වෙනත් සුදුසු තැනක අඩි 3 කට උඩින්, පිරිමි බුලත් කොළයක් නැට්ට පැත්ත උතුරට හිටින්න තියල, ඒ මත පහන තියල පහන් දැල්ලත් උතුරට හිටින්න තමයි පත්තු කරන්නෙ.

ඔය විදිහට දින 9 ක් පහන් පත්තු කරන්න දෙනවා. එයින් මුල් දින 3 ම එක දිගට නොකඩවා පත්තු කරන්න ඕන. ඉතිරි දින 6, දවසෙ උදේ හවස කොයි වෙලාවක හරි පත්තු කළාම ප්‍රමාණවත්. දොස් වැඩිපුර තියෙනව නම් තිරයේ ඉක්මනට අඟුරු බැඳෙනවා. මොකද ඒ පරිසරයේ තියෙන විස, පහන් දැල්ලට ඇදල අරගෙන පුච්චල දානවා.

## අපවාද කිරීම

අපවාදයක් කියන්නෙ කෙනෙකුට නිකරුනේ දොස් කීම. එතකොට ඒ අපවාදයට ලක්වෙන කෙනා මගඵල ලාභියෙක් වුනොත් ඒක බරපතලයි. නමුත් මගඵල ලාභියෙක්ගෙන් වුනත් සතර අපාගත නොවන මට්ටමේ අපවාදයක් සිද්ධ වෙන්න පුළුවන්. හැබැයි එතැනදි අපවාදයක් කියල දැනගත්තොත්, සත්‍යය වසන් වෙන්නෙ නෑ, වරද සැඟවෙන්නෙ නෑ. අවිද්‍යාව තියෙන නිසා තමයි අපවාදයක් වුණත් සිද්ධ වෙන්න පුළුවන් වෙන්නෙ. උදාහරණයක් විදිහට ඒ කාලෙ කොටයක් උඩ ඉඳගෙන කැඳ වළඳපු රහතන් වහන්සේගෙ සිද්ධිය ගන්න පුළුවන්. උන්වහන්සේට බඩේ අමාරුවක් තිබුණා. උණුවෙන් කැඳ වැළඳුවම තමයි ඒක සනීප වෙන්නෙ. ඒක උන්වහන්සේගෙ අත්දැකීමක්. ඉතින් උන්වහන්සේට උණු කැඳ පාත්තරයක් ලැබුණා. ඒක නිවෙන්න පෙර වළඳන්න ඕන නිසා උන්වහන්සේ මොකද කළේ, ඉක්මනට වටපිට බලනකොට කොටයක් තිබුණා, ඒක උඩ ඉඳගෙන අර පාත්තරය පිටින්ම කැඳ වැළඳුවා.

මේක දැක්කා තවත් හාමුදුරුවො නමක්, උන්වහන්සේගේ කැදර කමක හැටි, ගැලපෙන්නෙ නැති වැඩක් කරනවා, ඔහොම නෙවෙයිනෙ කැඳ වළ`දන්නෙ, ඒක සුදුසු තැනකට ගෙනිහින් වළඳන්න එපැයි කියල යම්කිසි අපවාදයක් කළා. එතකොට කැඳ වළඳපු හාමුදුරුවො මේ හාමුදුරුවන්ගෙන් අහනවා, ඔබ වහන්සේට යම්කිසි මග ඵලයක් එහෙම තියෙනවද කියල. මම හිතනවා මම සෝතාපන්නයි කියල උත්තර දෙනවා. එහෙනම් තමන්ගෙ ඵලය මේ අත්බවයේ ඔයින් නැවතුනා කියල හිතාගන්න කිව්වා. දැන් මේ හාමුදුරුවො දැනගත්තා යම්කිසි අපවාදයක් සිද්ධ වුණ බව.

මගඵල ලාභියෙක්ගෙ අතින් යම්කිසි ආර්ය උපවාදයක් සිද්ධ වුණොත් ඒක කමා කර ගන්න කල් එතැනින් එහාට ඉතිරි මගඵල නවතිනවා. ඒ නිසා නැවත කමා කරගන්න ඕන. ඉතින් අර විදිහට කියනකොට දැනගත්තා, මේ කැඳ වළඳපු හාමුදුරුවො ඊට ඉහළ තලයක ඉන්න බව. ඊට පස්සෙ ඒ විදිහට කැඳ වළඳපු හේතුව හොයල බලනකොට තමයි දැනගත්තෙ, ඒ කැදරකමට නෙවෙයි, මෙන්න මේ විදිහෙ බඩේ අමාරුවට ප්‍රත්‍ය වෙන ඖෂධයක් වශයෙන් තමයි ඒක නිවෙන්න පෙර උණුවෙන්ම ගත්තෙ කියල. ඉතින් රහතන් වහන්සේ නමුත් ඒ වගේ වෙලාවකට ඒ ප්‍රත්‍යය ගන්නවා. එහෙම නැතුව කැදරකමකට අර විදිහට ගත්ත නෙවෙයි. නමුත් අනික් හාමුදුරුවො ඒක දැක්කෙ වෙනත් විදිහකට. නොදැනුවත් මගඵල ලාභියෙක් අතින් වුනත් ඒ වගේ අපවාදයක් නැගෙන්න පුළුවන්. ඒත් මගඵල ලාභියෙක් නම් අපවාදයක් බව දැන ගත්ත හැටියෙම කමා කරනවා. කමා නොකළොත් ඉතිරි ඵල කල් පමා වෙනවා.

කොහොමහරි ඉතින් මේ වගේ සිද්ධිවලින් අපි දැනගත යුතු වැදගත් කාරණයක් තියෙනවා. ඒක අද ඉන්න අයටත් බොහොම වැදගත්. කෙනෙක්ගෙ බාහිර හැසිරීම් දිහා බලල එකපාරටම නිගමන දෙන්න යාම හරි භයානකයි. ගිහි වේවා පැවිදි වේවා ඒ කෙනා යම් විදිහකින් දහම් අවබෝධයක් ලබපු මගඵල ලාභියෙක් නම්, තමන් ලොකු අවැඩක් කරගන්නෙ. ඒ නිසා කෙනෙක් දිහා බලල අපි නොදන්න දේවල් ගැන කියන්න යෑම ගැළපෙන්නෙ නෑ. අද වුණත් අපි දන්නෙ නැතුව අපි අතර ඔය වගේ ගුණ වඩපු උත්තමයො ඉන්න පුළුවන්. ඒ වගේම අවස්ථානුකූලව උන්වහන්සේලා අතින් යම් යම් අතපසුවීම් සිද්ධ වෙන්නත් පුළුවන්. ඒ වගේ වෙලාවට ඒවා දැකල කවදාවත් දොස් කියන්න යන්න නරකයි. මොකද බුදු කෙනෙකුට හැර අනෙක් කෙනෙකුට තවත් කෙනෙක්ගෙ තත්ත්වය/පමණ කියන්න බෑ. ඒ නිසා වචන බොහොම ප්‍රවේසමෙන් පාවිච්චි කරන්න ඕන.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# වස විස ආහාරවලට එරෙහි විකල්ප 24

දුර්ලභව ලැබූ මනුස්ස අත්බවය වස විස ආදී ප්‍රයෝග විපත්තිවලින් අකාලයේ විනාස වෙන්න ඉඩ නොදී ආරක්ෂා කර ගැනීමේ අරමුණින්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වර්තමාන සමාජයේ ප්‍රභලව ඔඩුදුවා තියෙන වස විස ආහාර හමුවේ, ඒවාට විකල්ප වශයෙන් භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා ස්වභාවික දේශීය ආහාර වර්ගයක තොරතුරු සියලු ජනයාගේ යහපත පිණිස මෙවරත් සටහන් කරනවා.

## බිලිං

ගමේ ගොඩේ වගේම නාගරිකවත් ඕනෑම පරිසරයකට අනුවර්තනය වෙමින් ඉතා සාර්ථකව හැදෙන බිලිං අද කිසිම ප්‍රයෝජනයකට නොගෙන ගස් යට වැටිල කුණු වෙලා අපතෙ යන හැටි දකින්න පුළුවන්. ඉස්සර නම් ගමේ ගොඩේ බිලිංවලට හොඳ ඉල්ලුමක් තිබුනා. අද කාබයිට් වගේ විස වර්ග යොදාගෙන පළතුරු ඉදෙව්වත් එදා පළතුරු ඉදෙව්වෙ බිලිං කොළ යොදාගෙන. ගැමි ගෙදරක මගුලක්, දානයක් වගේ අවස්ථාවක ගමේ සියල්ලෝම ඊට සහසම්බන්ධ වෙනවා. එතකොට 200 - 300 කට විතර ආහාරපාන ලබාදෙන්න සිද්ධ වෙනවා. අතුරුපසට අනිවාර්යෙන් කෙසෙල් ගෙඩි ලබාදෙනවා. එතකොට වළක් කපල ඒකට බිලිං කොළ දාල ඒ මත කෙසෙල් කැන් කිහිපයක් ඇවරි කපල එළල, නැවත බිලිං කොළ දාල දුම් ගහන්න පොඩි කටක් ඉතිරි කරල පස්වලින් වළ වහනවා. දින 3 ක් උදේ හවස දුම් ගහනකොට කෙසෙල් ගෙඩි ඉදෙනවා. ගෙඩිවල පැහැය ස්වභාවිකව ඉදුනු කෙසෙල් ගෙඩිවල පැහැයෙන්ම දිස්වෙනවා. මේ වගේ කෙසෙල් ගෙඩි ආහාරයට ගැනීමෙන් කිසිම දවසක කාටවත් බඩේ අජීර්ණ හැදුනෙ නෑ. වසක් විසක් වුනේ නෑ.

**කල්ගිය අජීර්ණ, නිතර හැදෙන බඩේ අමාරු, අර්ශස් ගෙඩි, බහිස්‍රාවී පද්ධතිය ආශ්‍රිත රෝග සඳහා බිලිං කොළ සහ ඇඹුල් කෙසෙල්වලින් ගන්නා ඖෂධයක් පහතින් සටහන් කරනවා.**

වළක් කපල ඒ වළ ඇතුලෙ බිලිං කොළ හොඳින් අසුරල, හොඳින් පැසුනු ඇඹුල් කෙසෙල් ගෙඩි ඒ මත තැන්පත් කරන්න. නැවතත් උඩින් වැහෙන්න බිලිං කොළ අතුරල වළට උඩින් ලෑල්ලක් තියල ඒ මතට පස් දමන්න. දුම් ගහන්න කුඩා කටක් ඉතිරි කරල දවස් 3 ක් උදේ හවස වළ දුම්වලින් පිරිල වළේ පස් අතරින් දුම උඩට එනකල් අමු පොල් ලෙලි දුම අල්ලන්න. මේ විදිහට ඉදවගත්ත කෙසෙල් ගෙඩි යහමින් රෝගියාට අතුරුපසට දෙන්න. සතියකට දින 3 - 4 බැගින් මාස එකහමාරක් විතර දෙනකොට ක්‍රමානුකූලව බහිස්‍රාවී පද්ධතියේ තියෙන සියලු අපද්‍රව්‍ය ඉවත් වෙලා සක්‍රිය වෙන්න පටන් ගන්නවා.

ඒ වගේම **ක්ෂණික අජීර්ණවලට බිලිං ගෙඩි කොටාගෙන එයින් එන යුෂ පත එකකට මී පැණි මේස හැඳි 2 ක් මිශ්‍ර කරල පානය කිරීමෙන් වහා සුව වෙනවා.**

## බිලිං වේලුම

තමන්ට පුළුවන් ප්‍රමාණයක් බිලිං ගෙඩි අරගෙන හොඳින් හෝදල ඒවායේ අග මුල පොඩ්ඩක් කපල ඉවත් කරල මැටි මුට්ටියකට දමා වතුර නොදා ලුණු, ඉදුනු කපුටු කොච්චි (සාමාන්‍ය හීන් කොච්චි) පලල එකතු කරල ලිපේ තියල වහන්නෙ නැතිව බස්සව ගන්න. හොඳින් දිය නැගුනු පසු වියළා කුඩු කරගත් රම්පෙ කුඩු, ඉඟුරු කුඩු, කුරුඳු කුඩු, කරපිංචා කුඩු, රන්වන් පාටට එනකල් කබලෙ බැදගත්ත කොත්තමල්ලි කුඩු, වේළිච්ච ගම්මිරිස් ඇට, සූදුරු, මාදුරු, කළුදුරු කුඩු එකතු කරල සම්පූර්ණයෙන්ම දිය හිඳෙනකල් බස්සව ගන්න. ඉන්පසු ප්‍රතික්‍රියා නොකරන පිරිසිදු භාජනයක අසුරා තබාගෙන ආහාර සමග කෑමට එකතු කරගන්න. මේ සඳහා අවශ්‍ය අමුද්‍රව්‍ය අනුපාතයන් පහතින් සටහන් කරනවා. මේ අනුපාතය එන විදිහට අමුද්‍රව්‍ය අඩු වැඩි කරගන්නත් පුළුවන්.

බිලිං ගෙඩි කිලෝ 20 යි, ලුණු කුඩු ග්‍රෑම් 500 යි, රම්පෙ - කරපිංචා - ඉඟුරු - කුරුඳු කුඩු ග්‍රෑම් 50 බැගින්, කොත්තමල්ලි කුඩු ග්‍රෑම් 200 යි, ගම්මිරිස් ඇට ග්‍රෑම් 50 යි, සූදුරු - මාදුරු - කළුදුරු ග්‍රෑම් 50 බැගින්.

මේ විදිහට සකස් කරගත්ත බිලිං වේළුම පහත රෝග සඳහා ප්‍රත්‍ය වෙනවා. ඒ සඳහා දිනකට ගෙඩි 3 ක් පමණ අඩු තරමින් ආහාරයට එකතු විය යුතුයි.

**පෙණහළු පිළිකා, නියුමෝනියාව, නිරන්තරයෙන් පෙණහළු තුල සෙම එකතු වීම, පීනස් රෝග, නිතර සෙම් ගෙඩි හට ගැනීම, කෑම අරුචිය, අජීර්ණ දෝස, ආමියා දෝස වළකනවා. බිලිං වේළුම නිතර භාවිතයෙන් නොපෙනෙන ලෝකයේ අඳුරු පැත්ත දුරස් වීමක් සිද්ධ වෙනවා.** අමනුස්සයින්ට සම්බන්ධ වෙන්න අපහසු වෙනවා. ශරීරයේ තියෙන සෙම් ගතිය පුච්චා දමනවා.

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

29 වන කොටස

**සංයුක්ත නිකාය - 1**

ඉන්දක සූත්‍රය - 366 පිටුව

බුදු රජුන් රජගහ නුවර ඉන්දකූට පර්වතයෙහි ඉන්දක යක්ෂයාගේ භවනයෙහි වැඩ වසන කල ඉන්දක යක්ෂ තෙමේ ප්‍රශ්නයක් නැඟීය. බුදුවරයෝ රූපය ජීවයයි නොකියති. මේ සත්ව තෙමේ මේ සිරුර කෙසේ නම් ලබාද?

බුදු රජුන් - පළමු කොට කළල රූපය වේ. කළලයෙන් අබ්බුදය වේ (තවත් සතියකින් පමණ මේරූ අවස්ථාව) . අබ්බුදයෙන් පේශිය හට ගනී. පේශියෙන් ඝන නම් මස් පිඬක් හට ගනී. ඒ ඝනයෙන් පිලක පසෙක් (අත් 2, කකුල් 2, හිස යන පහට අදාල බිබිලි 5ක්) හට ගනී. ඉන්පසු කෙස්ද, ලොම්ද, නියද හට ගනී. ඔහුගේ මව යම් අහරකුත් බොන දැයකුත් බොජුනුත් වළඳාද, මව් කුසට පැමිණි සත්ව තෙමේ ඒ ආහාර පානාදියෙන් එහිදී යැපෙති.

සුචිලෝම සූත්‍රය - 368 පිටුව

කරලෝම සහ සුචිලෝම යන යක්ෂයන් දෙදෙනා බුදු රජුන් වැඩ සිටි පෙදෙසින් යන විට කරලෝම තෙමේ සුචිලෝමට මේ ශ්‍රමණයෙකැයි කීය. සුචිලෝම තෙමේ, මේ ශ්‍රමණයෙක් නොවේ, ශ්‍රමණයෙකියි (ශ්‍රමණයෙක් වගේ හෙවත් ශ්‍රමණ ප්‍රතිරූපකයක්) කියා තතු බලන ලෙසින් බුදු රජුන්ගේ කයේ ඇතිලුනි. උන්වහන්සේ කය මඳක් ඉවත් කළේය. ඇයි ශ්‍රමණය මට බයදැයි අසා බුදුන්ට යක්ෂ තර්ජනයක් කර නිර්භය බව දැන ප්‍රශ්නයක් ඇසීය. බුදු රජුන් ඊට දුන් පිළිතුරු මේ සූත්‍රයේ සඳහන් වේ.

මණිභද්ද සූත්‍රය - 370 පිටුව

බුදු රජුන් මණිභද්ද යකුගේ විමන්හි වැඩ සිටි දිනෙක එම යකු මෙසේ කීය. සිහි ඇත්තේ හැම කල්හි යහපත, සුවය, ශ්‍රේෂ්ඨත්වය ඇති අතර වෛරයෙන්ද මිදේ. එවිට බුදු රජුන් මුල් කාරණා තුන අනුමත කර එමගින් වෛරයෙන් නොමිදෙන බවත්, සව් සතුන් කෙරෙහි මෙත් වැඩීමෙන් ඕ හට කිසිවෙකු හා වෛරයක් නොවන බවත් දේශනා කළ සේක.

සානු සූත්‍රය - 370 පිටුව

සානු නම් දරුවෙක් හට යක්ෂාවේෂයක් විය. මව් හඬමින්, සිව් පෝයට සිල් සමාදන් වන අය සමග යක්ෂයෝ නොකෙළිතියි තමා අසා තිබෙන රහතුන්ගේ වචන කී විට එය අනුමත කළ යක්ෂයා, ඉදින් රහසෙහි හෝ එළිපිට පව් කරන්නේ යමෙක්ද, අහසෙහි සැරුවත් ඒ පාපයෙන් වෙන්විය නොහැකි බවද සානුට කියවයි කියා ඉවත් විය. මව්ගේ අවවාදය වූයේ, උණු අළු නිරය වන් ගිහි වතට පැමිණි ඔබ මේ නීච ගිහි දිවිය අතහැර යළි යන්න යනුයි. විස්තර මෙහි ඇත. (මේ සානු ගිහි වතින් ඉවත් වී පැවිදිව නැවත ආ කෙනෙක් ලෙස හැඟේ)

පියංකර සූත්‍රය - 372 පිටුව

අනුරුද්ධ තෙරුන් උදෑසන දහම් පද බෙනෙති. පියංකර පුතුගේ මව් යකිනි ඔහුට නාඬා ශබ්ද නොකරන ලෙස අවවාද කළේය. ප්‍රාණීන් කෙරෙහි සංයතව (හික්මී) මුසා බස්වලින් වෙන්ව පවිත්‍ර වූ සීලයෙන් හික්මී පිසාච යෝනියෙන් මිදෙමුයි කීය.

පුනබ්බසු සූත්‍රය - 372 පිටුව

දෙවරම් වෙහෙරෙහි වැඩහිඳි බුදු රජුන් භික්ෂූන්ට නිවන පිළිබඳ අර්ථවත්ව විග්‍රහ කර දම් දෙසන කල්හි, පුනබ්බසු යකිනිය තම පුතු නැළවීය. බුදු රජුන් නිවන් මග දෙසන බැවින් අසන්ට වටිනා බව, අසීමිත බව කියා පියා සහ පුතු සැනසූ විට පුතුද මහා නුවණින් පිළිතුරු දී ඇත. යකිනිය දම් අවබෝධය ලබා පියාටද ආසිරි පැතීය. විස්තර ඇත.

සුදත්ත සූත්‍රය - 374 පිටුව

අනේපිඬු සිටුතුමා පළමුව බුදු රජුන් හමුවට ගිය අයුරු මෙන්ම බුද්ධ ප්‍රසාදයෙන් රාත්‍රිය ආලෝක වී පෙනුන හැටිද ඒ එළිය විටින් විට

---

හැබැයි **දරුඵල බලාපොරොත්තුවෙන් ඉන්න මව්වරුන්ට මේ බිලිං වේළුම සුදුසු නෑ.**

ඒ වගේම **බිලිං** ගැට/ **ගෙඩි කොටාගෙන පොට්ටනියක් බැඳල නෑමට පෙර දද, කුෂ්ට, කුඩු අළුහම්, උදුගොව්වන් කෑ තැන්වල හොඳින් අතුල්ලල විනාඩි 30 - 40 ක් තියෙන්න හැරල සෝදන්න. දින 7 ක් හෝ සුව වෙනකල් කරන්න. සබන් ගැල්වීමෙන් වළකින්න. ක්‍රමානුකූලව සුව වෙනවා.**

මේ විදිහෙ ඖෂධීය ගුණ තියෙන බිලිං, සලාදයකට, ව්‍යංජනයකට, සම්බෝලයකට, හොද්දකට එකතු කර ගැනීමෙන් ආහාරයේ රසයත් වැඩිවෙලා ඖෂධීය ගුණයත් ලැබෙනවා.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

අතුරුදන් වන විට, සීවක යක්ෂ තෙමේ ගමනේ අප්‍රමාණ වටිනාකම කියමින් දිරිගැන් වූ අයුරු සහ බුදු රජුන් හමු වී ප්‍රසාදය පළ කළ අයුරුද විස්තර වේ.

**පඨමා සුක්කා සූත්‍රය - 378 පිටුව**

මහ පිරිස් වෙත දම් දෙසන සුක්කා මෙහෙණ කෙරෙහි පැහැදුන යක්ෂයෙක් ඇයගේ ගුණ කියා මිනිසුන් පුබුදු කළ අයුරු පැවසේ.

**දුතිය සුක්කා සූත්‍රය - 378 පිටුව**

සුක්කා මෙහෙණට භෝජනයක් පූජා කළ උවසුවෙක් දැක ප්‍රසන්න වූ යක්ෂයෙක්, උපාසක තමා අරිහත් මෙහෙණකට බොජුන් පුදා විසාල පිනක් රැස් කළ බව කීය.

**චීරා සූත්‍රය - 380 පිටුව**

එක්තරා උවසුවෙක් චීරා මෙහෙණට සිවුරක් පිදීය. බෙහෙවින් පහන් වූ යක්ෂයෙක් උවසුට ප්‍රසංසා කර වීරියෙන් වීරිය හන්දියෙන් හන්දිය ඒ බව කීය.

**ආලවක සූත්‍රය - 380 පිටුව**

බුදු රජුන් ආලවක දමනය කළ අයුරු ඇත.

**සුවීර සූත්‍රය - 384 පිටුව**

සුරාසුර යුද්ධයක් පිළිබඳව සක් දෙවිඳු සුවීර නම් දෙව් පුතුට කී කතාවක් සමග ඒ සංග්‍රාමය ගැන විස්තර අඩංගුය.

**සුසීම සූත්‍රය - 386 පිටුව**

සක් දෙව් රජ සුසීම දෙව් පුතුට, පමා නොවීමේ අනුසස් කියා ඇති වූ කතාවකින් පසු උත්සාහය විරිය නිවනට තැබිය යුතු තැනට කතාව ගෙන ආවේය. බුදු රජුන් භික්ෂුවට නිවන සඳහා උත්සාහ වීර්ය කළ යුතු බවත් දැන්විය.

**ධජග්ග සූත්‍රය - 388 පිටුව**

දේවාසුර සංග්‍රාමයක් මුල් කර ගෙන සක් දෙවිඳු දෙව් පිරිසට ධෛර්ය කරවන ලෞකික ක්‍රමයක් කීය. බුදු රජුන් බුදු සව් පිරිසට ත්‍රිවිධ රත්නය සිහි කිරීමේ ආරක්ෂාව දේශනා කළේය.

**වේපචිත්ති සූත්‍රය - 392 පිටුව**

සුරාසුර යුද්ධයකදි සම්මත කරගත් පරිදි පැරදුන වේපචිත්ති අසුර නැවත පස් පොළකින් බැඳී හිරවෙන අයුරු විග්‍රහ වෙයි.

**සුභාසිතස්ස සූත්‍රය - 396 පිටුව**

පෙර සුරාසුර යුද්ධයකදී සක් දෙව් සහ වේපචිත්ති අසුර අතර ප්‍රශ්න අසා පිළිතුරු සැපයීමෙන් ජය පරාජය සම්මත කළ වාග් සංග්‍රාමයක් විය. සුභාසිතයට දෙපක්ෂයම ජය සම්මත කරගෙන තරග කළේය. සක් දෙවිඳුට සුභාසිතයෙන් ජය අත්විය. විස්තර ඇත.

**කුලාවක සූත්‍රය - 400 පිටුව**

සුරාසුර යුද්ධයක් විය. දෙවියෝ පැරද පළා ගියහ. අසුරයෝ දෙවියන්ව ලුහු බැන්දහ. ඉඹුල් වනය පසු කළොත් කැදලිවල කුඩුවල සිටින ගුරුළු පැටව් වැනසේ, එබැවින් දිවි ගියත් ඒ හරහා නොගොස් වටා යමුයි සක් දෙවිඳු රිය වට පැදවීය. දෙවියෝ සටනට ආපසු හැරුනේ යැයි සිතූ අසුර පිරිස අසුර භවනයට පළා ගියේය. සක් දෙවිට දැහැමින් ජය අත්විය.

**නදුබහිය සූත්‍රය - 400 පිටුව**

සක් දෙවිඳු තම හතුරු වූ වේපචිත්ති අසුර හට ද්‍රෝහී නොකරමියි සිතීය. ඒ චිත්ත පරිවිතර්කය දත් වේපචිත්ති අසුර සක් දෙව් හමුවට එනු දැක, සක් දෙව් රජ වහ වහා නවත්වන්න අණ කළේය. ද්‍රෝහී නොකරන්න ඔහු ගිවිසවා ගති.

**වේරෝචන අසුරින්ද සූත්‍රය - 402 පිටුව**

වේරෝචන අසුරිඳු සහ සක් දෙවිඳු බුදු රජුන් වැඩ සිටි තැනට පැමිණි කල සිදු වූ සංවාදාත්මක කතාවක් මෙහි ඇතුලත්ය.

**අරඤ්ඤායතන ඉසි සූත්‍රය - 402 පිටුව**

සක් දෙවිඳු සහ වේපචිත්ති අසුරිඳු පෙර කලෙක සිල්වත් කළණ දම් ඇති ඉසිවරු සිටින සෙනසුනකට පැමිණියේය. වේපචිත්ති අසුර පටවල් කිහිපයක් ඇති පාවහන්වල නැගී කඩුව එල්ලාගෙන සේසත් දරමින් ඉසිවරු සිටින තැනට විත් අගෞරව කර ගියේය. සක් දෙව් රජද එසේම පැමිණ ඒ සියල්ල එතැනදී ඉවත් කර ගෞරවයෙන් වැඳ සිටියේය. ඉසිවරු තම සිරුරු ගඳ බව කියා සක් දෙව් රජුට ඉවත් වන්නැයි කී විට, සිල්වතුන්ගේ සිල් සුවඳ මැද ඒ ගඳ හිසෙහි පළඳනා විසිතුරු කුසුම් මල් දමක් මෙන් කැමැත්තෙමුයි කියා, දෙවියෝ මෙහි පිළිකුල් යන හැඟීම් ඇත්තෝ නොම වෙතියි කීය.

**ඉසයෝ සමුද්දක සූත්‍රය - 404 පිටුව**

සුරාසුර යුද්ධයක් ඇති කල, සම්බර නම් අසුරිඳු වෙත ගිය මුහුදු තෙර පන්සල්වල වෙසෙන ඉසිවරු අභය දානය දෙන ලෙස කීය. ශක්‍ර සමග හිතවත් තොපට බියම දෙමියි අසුර කීය. වැපිරූ බීජය අනුව අස්වැන්න ලැබෙන සේ දරුව නුඹට නිතරම බය නොසන්සිඳේ යැයි ඉසිවරු කීය. ඍෂි සාපයක් ලද සම්බර අසුරිඳු එතැන් පටන් රාත්‍රී තුන් යලක් තැතිගෙන නැඟී සිටිති.

**දේවා සූත්‍රය (සත්ත වත පද) - 406 පිටුව**

පෙර මිනිස් වූ සක් දෙවිඳු සත්ත ව්‍රත පද සමාදාන වීම නිසා සක්‍ර දේවේන්ද්‍ර බවට විය.

1. මව්පියන් පුස්නා (පෝෂණය කරන)
2. කුල දෙටුවන් පුදන
3. මෘදු තෙපුල් බනන
4. කේළමින් වළකින
5. මසුරුමල දුරු කිරීමෙහි යෙදුනු
6. සැබෑ තෙපුල් බනන
7. ක්‍රෝධය මැඩලන

ඒ මනුස්ස සත්වයා ඒකාන්තයෙන් සත්පුරිසයෙකැයි තව්තිසා වැසි දෙවියෝ කීය.

**දුතිය දේවා (සප්ත වත පද) සූත්‍රය - 408 පිටුව**

සක් දෙවිඳුනට මඝවන්තු, පුරින්දද, සක්ක, වාසව, සහස්සක්ඛ, සුජම්පතී, දේවානමින්ද යන නම් පවසන්න හේතු ඇත.

**මහාලී සූත්‍රය - 408 පිටුව**

මහාලී නම් ලිච්ඡවී, බුදු රජුන්ගෙන් සක්‍රයා ගැන විස්තර ඇසීය. සක්‍රයා දැක ඇත්දැයි අසා, එය විස්වාස කළ නොහැකි කරුණක් බවද, දැක ඇත්නම් සක්‍ර ප්‍රතිරූපකයෙක් (සක්‍රයෙක් වගේ කෙනෙක්) විය හැකි යැයිද කී විට, සක්‍රයාත්, සක්‍රකාරක ධර්මත්, සක්‍රයා ඒ තත්වයට පත්වීමට කළ පුණ්‍යකර්මයත් දක්නා බව බුදු රජුන් ප්‍රකාශ කර ඇත.

**දළිද්ද සූත්‍රය - 412 පිටුව**

එක්තරා දිලිඳු වූ, අනුන්ගේ අනුකම්පාවට භාජනය වූ අසරණ මිනිසෙක් බුදු රජුන් කෙරෙහි පැහැද සද්දා, සීල, ශ්‍රැත, ත්‍යාග, ප්‍රඥා සමාදානය විය. හේ මරණින් මතු තව්තිසා දෙව්ලොව අන්‍ය දෙවියන් අභිබවා වර්ණයෙන්ද, යසසින්ද බබළයි. අන්‍ය දෙව්වරු ඔහුට මිනිස් ලොව සිටි මෙබන්දෙකැයි නින්දා කරන්නට විය. සක් දෙවිඳු ඒ දෙව්වරුන්ට එසේ නොකියන ලෙසත්, බුද්ධ සාසන සමාදානයේ වටිනාකමත් පෙන්වා පැසසුමට ලක් කළේය. **(දෙව් ලොව දෙවියන් අතරද ඊර්ෂ්‍යා, මාන, උද්දච්ච... ආදී ගති තිබෙනා බවට සාක්ෂියකි. නිවන් නොදැක**

**දෙව්ලොව යන්න පතන පිංවතුන් මේ ගැනත් සිතා බලත්වා.)**

<u>රාමණෙයයක සූත්‍රය - 414 පිටුව</u>

සක් දෙව් රජ දිනක් බුදු රජුන්ගෙන් බිම පිළිබඳව සිත්කළු බව කෙසේදැයි ඇසීය. ආරාම චෛත්‍යයෝද, වන චෛත්‍යයෝද, මැනවින් නිම කළ පොකුණුද, මනුස්ස රමණීයත්වය පිළිබඳව සොළොස්වන කලාවෙන් කලාවක්වත් නොඅගින බවත්, රහතන් වහන්සේලාගේ පා පහස ලත් ඒ බිම් සිත්කළු බවත් දෙසීය.

<u>යජමාන සූත්‍රය - 414 පිටුව</u>

සක් දෙව් රජ බුදු රජුන්ගෙන් මෙසේ ඇසීය. පින් කැමති යාග කරන්නා වූ උපධි විපාක ඇති, පින් කරන්නා වූ මනුස්ස ප්‍රාණීන් විසින් කවරෙකුට දෙන ලද්ද මහත් ඵල වේද? "චත්තාරෝච පටිපන්නා - චත්තාරෝච ඵලේ ඨිතා..." ආදී ලෙස මාර්ග ප්‍රතිපන්නයෝ සිව් දෙනද ඵලස්ථයෝ සිව් දෙනද

යන මේ අෂ්ඨාර්යෝ ඍජු වූයේය. ප්‍රඥා, සීල, සමාධිවලින් යුක්තය. මේ සංඝයාට දෙන ලද්ද මහත් ඵල වේ.

<u>වන්දනා සූත්‍රය - 414 පිටුව</u>

එකල සහම්පතී බ්‍රහ්ම සහ සක් දෙව්රජ බුදු රජුන් දැකීමට විත් ආවාසයේ දොරටුව ළඟ දෙපස සිටියේය. බුදු පියාණන් වහන්සේගේ අප්‍රමාණ වූ ගුණ කැටි වූ ගරු ගුණ පදවලින් අමතා ඇරයුමක් කළ විට, (දිනන ලද මාර යුද්ධ ඇති, බහා තබන ලද බර ඇති, ණය ගැති නොවූ මහා වීරයන් වහන්සේ නැගිටින්න. ලෝකයේ දහම් අමා දිය වස්සවමින් ඇවිදින්න) දේවේන්ද්‍රය, එසේ තථාගතයන් වහන්සේ නොවැඳිය යුතුය, මෙසේ වැඳිය යුතු යැයි පවසා වන්දනා සහිත ඉල්ලීම කරන ආකාරය (දිනන ලද මාර යුද්ධ ඇති, බහා තබන ලද බර ඇති, ණයින් මිදුණු පින්වතුන් වහන්සේ ලොවෙහි අමා දම් ඉස නිවන් අමා වස්සවමින් ඇවිදින්න) දේශනා කර ඇත.

<u>සක්ක නමස්සන සූත්‍රය - 416 පිටුව</u>

සක් දෙව් රජ උයනට යන්න මාතලී දෙව් පුතුට අජානේය රථය සකසන්නැයි කියා පහයෙන් බැස සැම දිසාවටම ඇඳිලි බැඳ නමදින්නට විය. ඒ දුටු මාතලී දෙව් පුතු මෙසේ ඇසීය. ත්‍රිවේද හදාරන, භූ ලෝකවාසී වූද, ක්ෂත්‍රීයෝද, සිව් වරම් දෙවියෝද, යසස් ඇති දෙවියෝද ඔබට වඳිති. ඔබ කාට නමදින්නේද?

සක් දෙව් රජ - සීලයෙන් යුත්, කලක් මුළුල්ලේ සමාධි සිත් ඇති බඹසර පියුම්හි නියැලුන පැවිදි උතුමන්ට වඳිමි. පින් කරන, සිල්වත් වූ ගෘහස්ත උවසු කෙනෙක් දැහැමින් අඹු දරුවන් පුසිත්ද (පෝෂණය කරත්ද) මම ඔවුන්ද නමදිමි.

<u>දුතිය සක්ක නමස්සන සූත්‍රය - 418 පිටුව</u>

සක් දෙව් රජ උයන් බිමට යාමට මාතලී රියදුරු සමග අජානේය රථයට නගින්න පෙර බුදු රජුන් නමදී. මේ ගැන මාතලී දෙව් පුත් ඇසූ විට, භාග්‍යවතුන් වහන්සේටත්, ක්ෂය කළ ආස්‍රව ඇති අරිහතුන් වහන්සේලාටත්, ශෛක්‍යයන්ටත් (අනෙකුත් මග ඵල ලාභීන්ටත්) වඳින බව කී විට, මාතලී තමනුත් වඳින බව කීය.

<u>තතිය සක්ක නමස්සන සූත්‍රය - 418 පිටුව</u>

සක් දෙව් රජ උයන් බිමට යාම සඳහා මාතලී දෙව් පුතුට අජානේය රථය සකසන්න කියා විත් සඟන නමදිති. කුණෙහි උපන් දුගඳ සිරුරු ඇති, සා පිපාසාවෙන් පෙළෙන ගෘහ වාසයක් නැති ඒ තව්සන්ගේ කුමන ආචාරයක් කැමැත්තෙහි දැයි කිව මැනැයි මාතලී කී විට, සක් දෙව් රජ සංඝයාගේ ආචාර ගුණ කීය.

ඔවුන් සතු ධාන්‍ය කොටු නැත. මෙරමා නිපයූ බතින් පෝෂණය වෙති. යහපත් ක්‍රියා සහ කතා ඇති, ඈති සම්පන්න (ප්‍රඥාවන්ත), නිහඬතාවය අගය කරන, සමව හැසිරෙන එතුමන් සැම දෙනා සමග අසමගි නැත. දඬු මුගුරු නොගනී. නිවුන ළය උපාදාන රහිතය. ඒ උතුමන්ට වඳිමි. එවිට මාතලීද ඒ උතුමන්ට වඳින බව කීය.

<u>ඣත්වා සූත්‍රය - 422 පිටුව</u>

සක් දෙව් රජ බුදු රජුන්ගෙන් මෙසේ ඇසීය. කුමක් දවා සුවසේ වෙසේද? ශෝක නොකෙරේද? කුමක් නැස්ම රුස්නෙහිද? (කැමැත්තෙහිද?)

ක්‍රෝධය දවා සුවසේ වෙසෙයි, ශෝක නොකෙරේ, ක්‍රෝධයන් නැස්ම ආරේයෝ පසසත්.

<u>දුබ්බණ්ණිය සූත්‍රය - 422 පිටුව</u>

දුර්වර්ණ වූ මිටි යකෙක් වරෙක සක් දෙව් රජුගේ පඬු ඇඹුල් අස්නෙහි හිඳ ගති. දෙවියෝ ඔහුට නින්දා කරත්, දොස් කියත්. එවිට යක්ෂ තෙමේ විශිෂ්ට රූ ඇති උස් මහත් ප්‍රසාදජනක විය. දෙව් පිරිස සක් දෙවිඳු වෙත ගොස් කරුණු කීහ. මේ ක්‍රෝධ භක්ෂක යක්ෂයෙක් බව දත් සක් දෙව් රජ, දකුණු දණ බිම තබා ඇඳිලි බැඳ, නිදුකාණෙනි මම ශක්‍ර වෙමියි තුන් වරක් කීය. ඒ කියන කියන මොහොතේ යකු දුර්වර්ණද ඉතා මිටිද වී නොපෙනී ගියේය. එවිට සක් දෙව් රජ ආසනයේ හිඳ ක්‍රෝධ නොකර ලබන ජය ගැන දෙවියනට කීය.

<u>මායා සූත්‍රය - 424 පිටුව</u>

එක් කලෙක වේපචිත්ති අසුරිඳු ඍෂි සාපයෙන් ගිලන්ව දැඩි ආබාධ ඇත්තේ විය. සක් දෙවිඳු ගිලන් තතු බැලීමට වේපචිත්ති කරා ගියේය. දුරදීම එන සක් දෙව් දුටු අසුරිඳු තමාට පිළියම් කරන ලෙස ඉල්ලීය. සක් දෙව් තමන්ට සම්බරී මායාව (ඉන්ද්‍රජාල) කියා දෙන ලෙස ඉල්ලීය. වේපචිත්ති තෙමේ, අසුරයන්ගෙන් අසා සිටින තුරු ඉන්නැයි කියා ඔවුන්ගෙන් ඇසූ විට, සක් දෙවියන්ට එය නොදෙන ලෙස කීය. එවිට වේපචිත්ති අසුර සක් දෙවිඳුට කතා කොට, මායා ඇති පුද්ගල තෙමේ සම්බර අසුර මෙන් සියක් අවුරුදු පැසෙන දරුණු නිරයට පැමිණෙතියි කීය. (සම්බරී මායාව කරන අය, කලින් එවැනි දෑ කළ සම්බර අසුර මෙන් අවුරුදු සියයක් නිරයේ පැසෙන බව)

<u>අච්චය සූත්‍රය - 426 පිටුව</u>

භික්ෂූන් දෙනමක් කලහ කරවූ වරද අනික් භික්ෂුව ඉදිරියේ කතා කළත් ඔහු එය නොපිළිගත්තේය. මෙය මුල් කර බුදු රජුන් කළ දෙසුමක් මෙහි ඇත.

<u>අක්කෝධ සූත්‍රය - 426 පිටුව</u>

බුදු රජුන්, කලහකාරී භික්ෂූන් දෙදෙනා අරභයා මෙසේ දෙසීය. සක් දෙව් රජ සුදම් සභාවේදී දෙවියන්ට මෙසේ කීය. ක්‍රෝධය තෙමේ තොප නහමක් මඩීවා (නොමඩීවා/ක්‍රෝධයෝ වැඩෙන්න එපා) කිපෙන්නවුන්ට නොකිපෙව. ක්‍රෝධ නොකිරීමද, අවිහිංසාවද හැම කල්හි ආර්යන් කෙරෙහි පවතී. ක්‍රෝධය මහා පර්වතයක් මෙන් ළාමක ජනයාව පෙළයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගය ඇතුළු තවත් රෝග රැසකට ප්‍රත්‍යක්ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප නවයෙන් (88, 89, 90, 91, 92, 93, 94, 95, 96) හඳුන්වා දුන්නා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ, වස විස කැවීම නිසා හට ගත් වකුගඩු ආබාධ ඇතුළු තවත් රෝග රැසකට උන්වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් ප්‍රත්‍යක්ෂ ඖෂධ කිහිපයක්.

ඒ වගේම විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, මේ ඖෂධ හදාගෙන පාවිච්චි කරන්න පෙර, ඒ රෝගවලට මුල් වූ කර්මවේග යම් පමණකට හෝ ගෙවා හරින්න, මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම පුළුවන් තරම් අනුගමනය කරන්න (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83, 86 කලාපවල සඳහන්). එහෙම නැත්නම් ඒ බෙත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාමයි හට ගන්නෙ. ඒ විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බෙහෙත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

ඒ වගේම විශේෂ ආශිර්වාද පූජාවන්ට, විශේෂ පුණ්‍යානුමෝදනා-වන්ට සහ ආර්ය මෛත් භාවනා වැඩසටහන්වලට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස යම් පමණකට හෝ ගෙවාගෙන යහපත් ශක්තියක් ගොඩනගා ගන්න පුළුවන්. ඒ නිසා ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෛත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න කටයුතු කරන්න. ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන, හේතු ඵල දහම අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කළ යුතුයි. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බෙහෙතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

ඒ වගේම මේ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදිමත්, ඒ බෙහෙත් හදන අවස්ථාවලදිත්, මේ සඟරාවෙන් මීට පෙරත් විවිධ අවස්ථාවලදි සඳහන් කරල තියෙන දැහැමි ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් ඖෂධවල ගැබ් වන ශක්තිය වැඩි වෙලා වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. මේ අමුද්‍රව්‍ය සඳහන් කරල තියෙන්නෙ එක්තරා අනුපාතයකට නිසා ඒ අනුපාතයම එන විදිහට තමන්ට අවශ්‍ය විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්නත් පුළුවන්. පින්වතුන්ගේ පහසුව පිණිස මේ සඟරාවේ සඳහන් කරන සමහර ප්‍රබල බෙහෙත් වර්ග දැනටමත් නිෂ්පාදනය කරල, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.

## ඉහ මොළ තද වී සිහි කල්පනාව දුර්වල අයට හිස තද සමන ගුලි

දැහැමි ක්‍රමයකට ලබා ගත් ගෝන අං දෙහි ඇඹුලෙන් ගල ගාගන්න. නැත්නම් සුළඟේ පාවෙන මට්ටමට කුඩු කරගෙන දෙහි ඇඹුලින් අනාගන්න. කෝපි ගෙඩි පමණට ගුලි කරගෙන උදේ, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් මාස 3 ක් පමණ ගන්න.

මේ මගින් කන් දෙක හෝ ගාන, ඇස් පෙනීම නිලංකාර කරවන, ඔළුව තද කරල සිහි කල්පනාව අඩු කරන, බෙල්ල හිර කරන, පපුව හිරවෙන ආබාධ දුරු වෙනවා. නහර මැද හිරවෙලා තියෙන සෙම කැටි දියවෙලා ඉවත් වෙනවා. අංශභාග ආබාධත් සුව වෙනවා. තුනටිය වටේ හිරි වාත නිසා ඇතිවන තදවීම සුව වෙනවා. බෙල්ලේ හිර ඉවත් වෙනවා. හුස්ම ගැනීමේ අඩුවක් දැනෙන ආබාධය සුව වෙනවා. වියළීම නිසා ඇතිවන ශරීරයේ තද වීම, පුරස්ථී ග්‍රන්ථි, අණ්ඩවාත, ඩිම්බ ආබාධ... ආදිය සුව වෙනවා.

## ගෙල හිර ගෙඩි සමන චූර්ණය (පෝළියෝ නිසා එන ආබාධ සුවයට)

පැය 12 ක් ලොකු දර ලිපක දමා රත් කළ ගුරු ගල් කැට හුළං වදින්නෙ නැතිවෙන්න අසුරල තියාගෙන, එක එක ගල් කැටය අරගෙන මී පැණිවලින් ගලගාගෙන දෙහි ඇඹුල් බින්දු 5 ක් විතර එකතු කරල, උදේට බෙල්ලෙ පිටුපස වළ වගේ ප්‍රදේශයත් අහුවෙන්න වැඩි ප්‍රදේශයක් ආවරණය වෙන විදිහට ගාන්න. දවසකට පැය 8 ක් තියෙන්න හරින්න. මාස 4 යි.

මීට අමතරව ඒත් එක්කම මේ සඟරාවෙන් හඳුන්වා දුන් (18, 71 කලාපවලින්) කහ-නිල් සාමාන්‍ය උණ පැණිය උදේ හවස තේ හැන්ද බැගින් දින 21 ක් ගන්න. (කහ-නිල් මිශ්‍ර උණ බොඩ ඉස්ම බෝතල් 1කට තල් සූකිරි කිලෝ 4 ක් එකතු කරල, එහෙම නැත්නම් මේ අනුපාතයම එන විදිහට අවශ්‍ය ප්‍රමාණයක් අරගෙන සෙල්සියස් අංශක 60 ක උෂ්ණත්වයෙන් බස්සවා ගත් උණ පැණිය)

මේ බෙහෙත් පෝලියෝ රෝගය නිසා ඇතිවන අංශ කුඩා වීම ඇතුළු කය මිටි වෙන ආබාධවලටත් සුදුසුයි.

## නාග විසහරණ තෙල

බුලත් ගිරිඳ දඬු, කොළ සමග කිලෝ 1 යි, නාගවල්ලි බුලත් (නැත්නම් ඒ වෙනුවට ගිරිඳ කොළ) කිලෝ 1 යි, අමු අබ ගස් දඬු, කොළ සමග ග්‍රෑම් 500 යි, අමු දෙහි කොළ හෝ ඉරිවේරිය ග්‍රෑම් 500 යි.

මේවා කොටාගෙන ඉස්ම අරගෙන පිරිසිදු එළඟිතෙල් බෝතලයක් දමා සෙල්සියස් අංශක 40 - 70 අතර උෂ්ණත්වයකින් හිඳගන්න. (දෙහි කොළවලට විතරක් අවශ්‍යනම් වතුර පොඩ්ඩක් එකතු කරල කොටා ගන්න. තෙල හිඳෙනකොට භාජනය පතුලේ වතුර නැති වෙනකල් හිඳ ගන්න)

සියලු කෘමි සහ සර්ප විසට උදේ හවස අදාල ප්‍රදේශවල ශරීරයේ උඩ පටන් පහලට ගාන්න. දින 2 යි. අවශ්‍ය නම් තවත් දින ගණනක් ගාන්න.

## දුබල කාය සමන හිස ගැල්ම

මේ සඳහා වේළා ගත් පුහු පොල් සහ වැටකෙයියා ගහේ පස්පංගුව සම බරින් අවශ්‍යයි. පස්පංගුවට මල් නැතත් කමක් නෑ. නමුත් තිබුනොත් වඩා හොඳයි. මල් නැත්නම් ඒ ප්‍රමාණයට දළු ගන්න. පුහු පොල් කොටාගෙන, වැටකෙයියා පස්පංගුව වතුර නොදා කොටා මිරික ගත් ඉස්මෙන් අඹරගෙන සීතකරණයක තියාගෙන රෝගියාගේ උපන් දවසේ (ඉරිදා, සඳුදා... ආදී වශයෙන්) උදේට හිස ගැල්මක් ආකාරයට දමන්න. පැය 8 ක් තැබීම ප්‍රමාණවත්.

මේ විදිහට සති 3 ට දින 3 ක් කරන්න. ඒ සති තුනේ අනෙක් දිනවල උදේට මීට පෙර 88 සඟරාවෙන් හඳුන්වා දුන් ස්නායු තෙලෙන් රිදී කුඩු ප්‍රතිකාරය හිස් මුදුන, නළල, බොරු ඇස් දෙපස දමන්න.

රිදී කුඩු ටිකක් අරගෙන ගල් වංගෙඩියකින් හෝ මිශ්‍රණ යන්ත්‍රයකින් හෝ සියුම්ව කුඩු මට්ටමට කොටාගන්න. ඉන්පසු සෙල්සියස් අංශක 350 ක උෂ්ණත්වයක නොකඩවා පැය 72 ක් රත් කරන්න. යම්කිසි විදිහකින් අතර මගදී උෂ්ණත්වය බහින මට්ටමට කඩ වුනොත් නැවතත් මුල පටන්ම රත් කළ යුතුයි. මේ කටයුත්ත උෂ්ණත්ව පාලකයක් හදාගෙන ඒ මගින් හෝ රත්රන් / වාත්තු වැඩ කරන අය හරහා කරගන්න පුළුවන්. ඒ විදිහට රත් කළාම රිදී කුඩු ටික ගල්වෙලා කැටයක් වගේ වෙනවා. දැන් ඒක නැවතත් කුඩු කරගෙන ස්නායු තෙල් මිශ්‍ර කරගත යුතුයි. එක ස්ථානයක එක වතාවකට ගල්වන්න සාමාන්‍යයෙන් රිදී කුඩු කන් හැන්දක් සමග ස්නායු තෙල් තේ හැඳි කාලක් පමණ මිශ්‍ර කර ගැනීම ප්‍රමාණවත්.

ඉස් මුදුනේ ගල්වන කොට රවුමට කුඩා ප්‍රමාණයක් හිස කෙස් ඉවත් කරල ඒ ස්ථානයේ ගල්වා කපු රෙදි කැබැල්ලකින් පැළැස්තරයක් දමන්න. අනෙක් තැන්වලත් තෙල් මිශ්‍රණය ගල්වා ඒ විදිහටම පැලැස්තරයක් දමන්න. උදේ වරුවේ ගල්වා පැය 8 ක් තියල ඉවත් කරන්න. (මේ විදිහට ගැල්වූ රිදී කුඩු ටික අවශ්‍ය නම් නැවතත් අරගෙන අර විදිහටම නොකඩවා සෙල්සියස් අංශක 350 ට පැය 72 ක් රත් කරල නැවතත් පාවිච්චියට ගන්න පුළුවන්.) ඉන්පසු උණු වතුර හෝ ඇල් වතුර ස්නානය කරන්න. ඉන්පසු 36 කලාපයෙන් හඳුන්වා දුන්, "මානසික ඌණතාවයට ප්‍රත්‍ය සමාධි ඔසුවක්" නම් ලිපියෙන් සඳහන් කරල තියෙන බුද්ධි වර්ධන ගුලි අවුරුදු එකහමාරක් ක් පමණ යනකල් දෙන්න පුළුවන් නම් ඉතා හොඳයි. (මේ ගුලි වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනයෙන් ලබා ගන්නත් පුළුවන්.)

මාස තුනේ පටන් ක්‍රමයෙන් කායික, මානසික වර්ධනය පෙනෙන්න පටන් ගන්නවා. ඔටිසම් ආබාධය සුව වෙනවා.

## ලේ කැටි ගැසීම අඩු වීමේ ආබාධය හෙවත් හීමොෆීලියා සුව නස්නය

වේවැල් බොඩ ඉස්ම බින්දු 6 බැගින් දින 3 කට වතාවක් උදේට නස්න කරන්න. එක නාස් පුඩුවකට බින්දු 3 බැගින් දෙකටම 6 යි. මේ විදිහට අවුරුදු 5 ක් කළ යුතුයි. මාස තුනේ පටන් සුව වීම ආරම්භ වෙනවා. පාකින්සන් රෝගය සඳහා 21 වතාවකින් පසු ප්‍රතිඵල ලැබෙනවා. මේ වේවැල් බොඩ ඉස්ම සීතකරණයක මාස 6 ක් තියාගන්න පුළුවන්. එහෙම නැත්නම් පහත සඳහන් නස්න තෙල හදාගෙන පාවිච්චි කරන්නත් පුළුවන්.

## නස්න තෙල (හීමොෆීලියා සුවයට විශේෂයි)

පිරිසිදු එළඟිතෙල් බෝතල් කාලයි, තල තෙල් බෝතල් කාලයි, වතුර නොදා සකස් කර ගත් වේවැල් බොඩ ඉස්ම බෝතල් එක හමාරයි (යම් කිසි විදිහකින් ඉස්ම ගන්න තරම් ප්‍රමාණවත් නොවුනොත් විතරක් ඉතා කුඩා වතුර ප්‍රමාණයක් එකතු කරගත්තට ගැටළුවක් නෑ). මේ සියල්ල මිශ්‍ර කරගෙන සෙල්සියස් අංශක 65 - 70 අතර උෂ්ණත්වයෙන් බස්සවාගෙන එන තෙල දින තුනෙන් තුනට උදේට නාස් පුඩු දෙකට බින්දු 4 බැගින් (එක නාස් පුඩුවකට බින්දු 2 බැගින්) නස්න කරන්න.

ලේ කැටි ගැසීම අඩුවීමේ ආබාධය හෙවත් හීමොෆීලියාව සුවයට අවුරුදු 3 - 5 දක්වා කාලයක් සුදුසු පරිදි කළ යුතුයි. ඒ වගේම මේ මගින් ප්‍රයෝග විපත්ති නිසා හට ගත් ඇස් අන්ධ බව, ග්ලූකොමා තත්වය, කන් බිහිරි බව, ශරීරයේ ස්නායු දුර්වලතා නිසා හට ගත් සියලු ආබාධ, පාකින්සන්, ඔටිසම්, පිටියුටරි ග්‍රන්ථිය නොවැඩීමේ ආබාධ සුව වෙනවා.

## හීමොෆීලියා සමන පැණිය

අතින් මිරිකල වතුර ඉවත් කර ගත්ත දිය සෙවෙල් කිලෝ 1 කට එළු කිරි ලීටර 1 ක් සහ නිවා ගත්ත උණු වතුර ලීටර 1 ක් දමන්න. (දිය සෙවෙල් ගන්නකොට තුන් හතර වතාවක් හෝදමින් ඒවායේ බැඳුන රොන්මඩ සුද්ධ කරගෙන පිරිසිදු කරගත යුතුයි.)

දැන් මේ සියල්ල තඹ හෝ ප්‍රතික්‍රියා නොකරන සුදුසු භාජනයක දමා ඊටත් වඩා විසාල රාස්පානකට වතුර දමා ඒ තුල ගිල්වල ලිපක් උඩ තියල පිරිසිදු එළඟිතෙල් ලීටර 4 කුත් එකතු කරල පැය 16 ක් බස්සව ගන්න.

ඉන්පසු පෙරාගෙන දිය සෙවෙල් ටික රෙදි කැබැල්ලක පොට්ටනි කරල මිරිකගෙන රොඩ්ඩ ඉවත් කරල, ඒ දියරය නැවතත් පෙර සේම භාජනයට දමා වතුර මත තියල උකු වෙනකල් (දිය හිඳෙනකල්) බස්සවාගෙන සම්පූර්ණයෙන් නිවුනට පසු පිරිසිදු මී පැණි ලීටර දෙක හමාරක් දමා මිශ්‍ර කරල තියාගන්න.

මාස 9 ක් උදේ, දවල්, හවස, රාත්‍රී වශයෙන් පැය හයෙන් හයට තේ හැන්ද බැගින් දෙන්න.

හදවතේ බිත්ති මැද තියෙන නිර්නාල ග්‍රන්ථියක දුබලතාවය නිසා, ලේ කැටි ගැසීමේ හෝමෝන නිපදවීම දුබල වීමේ ආබාධයක් නිසා, ඒ ග්‍රන්ථිය පෝෂණය වීමෙන් මේ ආබාධය සුව වෙනවා. බෙහෙත් පාවිච්චි කරන්න පටන් අරගෙන මාස 3 න් මේ ග්‍රන්ථිය වැඩීම ආරම්භ වෙලා රෝගය සමනය වෙන්න පටන් ගන්නවා.

තුනටිය ආශ්‍රිතව අභ්‍යන්තරයේ තියෙන රක්තානු නිපදවීම බල ගන්වන ඉන්ද්‍රියකත් දුබල බව දුරු කරල මේ බෙහෙතින් වැඩෙන්න පටන් ගන්නවා. අක්මාවේ ඉන්සියුලින් නිපදවෙන ග්‍රන්ථියත් වැඩෙනවා. රක්තානුවල ඔක්සිජන් ගබඩා කරල ක්‍රියාත්මක කරන ජාන කොටසක් නිරෝගීව ක්‍රියාත්මක වෙන්න පටන් ගන්නවා. ඔක්සිජන් ආධාර කරගෙන මේදය සහ සීනි, කැල්සියම් සමග සංයෝග හදල ශක්තිය බවට පත් කරන ක්‍රියාවලිය කාර්යක්ෂමව සිද්ධ කරනකොට ඊට අවශ්‍ය ප්‍රෝටීනුත් ප්‍රයෝජනයට ගන්නවා. මෙන්න මේ ක්‍රියාවලිය අක්‍රිය වීම තමයි දියවැඩියාව කියන්නෙ. මුත්‍රා සමග ප්‍රෝටීන් පිටවෙන්නෙත්, රුධිරගත සීනි සහ මේදය වැඩි වෙන්නෙත්, කොලෙස්ටරෝල් සහ අධි රුධිර පීඩනය හට ගන්නෙත් මේ දුර්වලතාවය නිසා.

මේ බෙහෙතින් ඒ සියල්ල සුව වෙනවා. ශරීරයේ සප්ත ධාතුවත් වර්ධනය වෙලා නිරෝගී කාර්යක්ෂම ශරීරයක් ඇතිවෙනවා. වකුගඩු සෛල නැවත පුනර්ජීවනය වෙනවා. ශරීරයේ චක්‍ර 7 ප්‍රබෝධමත් වෙලා නිරෝගි වෙලා සියලු මානසික ආබාධ සුව වෙනවා. හීමොෆීලියාවත් සුව වෙනවා.

## කාය විසහරණ පැණිය

පුහුල් කිලෝ 6¼ යි (හයයි කාලයි), පුහුල් වැල් කිලෝ 1¼ (පුහුල් වැල් නැත්නම් දිය තිප්පිලි කිලෝ 1¼ ක ඉස්ම), අමු නීරමුල්ලි කිලෝ 1¼ යි, අත්තික්කා පොතු කිලෝ 1¼ යි, අමු මී හරක් ගොම කිලෝ 1¼ යි. (මීට පෙරත් සඳහන් කළ පරිදි මී හරක් ගොම බිමට වැටෙන්න පෙර ලබා ගන්න පුළුවන් නම් වඩා හොඳයි. එහෙම බැරි වුනොත් විතරක් බිමට වැටුනු විගසවත් ලබා ගත යුතුයි. මොකද භූමියත් එක්ක ස්පර්ශ වෙනකොට මී හරක් ගොමවල ශක්තිය පොළවට උරා ගන්නවා.)

දැන් මේ සියල්ලම කොටාගෙන නිවාගත් උණු වතුර බෝතල් 1½ ක් හෝ අවශ්‍ය ප්‍රමාණයක් දමා මිරිකගෙන ඉස්ම ගන්න. ඊට තල් සූකිරි කිලෝ 2½ ක්, පිරිසිදු කිතුල් පැණි බෝතල් 3¾ ක් හෝ පිරිසිදු කිතුල් හකුරු කිලෝ 3 ක්, සුදුරු - මහදුරු රන්වන් පාටට බැදගෙන එකකින් ග්‍රෑම් 50 බැගින්, කරදමුංගු (එනසාල්) ඇට කුඩු ග්‍රෑම් 50 ක් එකතු කරල ලිපේ තියල සෙල්සියස් අංශක 60 - 70 උෂ්ණත්වයක රත් කරල පැණි පදමෙදි වතුර හිඳුනට පසු බාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු තේ හැන්ද බැගින් දින 14 පටන් මාසයක් දක්වා කාලයක් ගැනීම ප්‍රමාණවත්.

මේ මගින් බඩ පපුව දැවිල්ල, පිත් විස, හන්දිපත්, මස්පිඬු වේදනා, ආහාර නොදිරවීම, නිදිමත, වෙහෙස මහන්සිය දුරු වෙනවා. ශරීරයට වැදුනු විවිධ විස දුරු වෙනවා. ඒ නිසා හට ගත් චර්මාබාධ සුව වෙනවා.

## ජලභීතිකා සුවයට

මීට පෙර 18, 71 සඟරාවලින් හඳුන්වා දුන් කහ-නිල් ප්‍රබල උණ පැණිය පැය අටෙන් අටට හෝ දවසකට තුන් වතාව බැගින් හෝ පස් වතාවක් ගන්න. (කහ-නිල් මිශ්‍ර උණ බොඩ ඉස්ම බෝතල් 4කට තල් සූකිරි කිලෝ 1ක් එකතු කරල, එහෙම නැත්නම් මේ අනුපාතයම එන විදිහට අවශ්‍ය ප්‍රමාණයක් අරගෙන සෙල්සියස් අංශක 60 ක උෂ්ණත්වයෙන් බස්සවා ගත් උණ පැණිය)

ඊත් එක්කම නික මුල්, සුදු එළුණු, පාවට්ට මුල්, වියළි වදකහ කලං 4 බැගින් අරගෙන වතුර පත 6 ක් එකතු කරල 3 ට හිඳගෙන අනුපාන විදිහට සහිඳ ලුණු, එඩරු තෙල් තේ හැඳි තුන් කාල (¾) බැගින් දමා වරකට පත ½ බැගින් පැය හයෙන් හයට දින 3 ක් දෙන්න. පළවෙනි වතාවට හදාගත්ත ප්‍රමාණය ඉවර වුනාම නැවත හදාගන්න. අතුරු ආබාධ නැතිව සුව වෙනවා.

## නෙල්ලි රස අරිෂ්ටය

නෙල්ලි ගහේ පස් පංගුව ග්‍රෑම් 50 බැගින් (නෙල්ලි ගෙඩි ඇටත් සමග ගන්න), හීන් උඳුපියලිය, රසකිඳ, පාවට්ට මුල්, කෝවක්ක කොළ ග්‍රෑම් 20 බැගින්, කොහොඹ ගහේ පස්පංගුව ග්‍රෑම් 20 බැගින් සියල්ලම අමු බරින් අරගෙන කොටාගන්න. ඉන් පසු ඒ මිශ්‍රණයට රතු කැකුළු හීනටි හාල් ග්‍රෑම් 50 ක පිටි සමග වතුර බෝතල් 3 ක් එකතු කරල මිශ්‍ර කරල ලිපේ තියල බෝතල් 2.4 ට (මිලි ලීටර 1800) බස්සව ගන්න. ඒ මිශ්‍රණය පෙරාගෙන එන ද්‍රාවණයට අමු නෙළුම් මල් ග්‍රෑම් 500 යි, අමු මී මල් ග්‍රෑම් 800 යි අඹරගෙන වතුර බෝතල් 5.2 ක් (මිලි ලීටර 3900) සමග සුදු සූකිරි කිලෝ 1 ක් එකතු කරන්න. සියල්ල දින 21 ක් කනක්කයක හෝ මැටි මුට්ටියක දමා අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 2 බැගින් මාසයක් හෝ අවශ්‍ය නම් මාස 3 දක්වා ගන්න. මේ මගින් කයේ නිල තැලීම්, හිරි වාත, නහරවල ලේ කැටි හිරවීම්, පපුව හදවත හිරවීම්, තදවීම්, කල්පනාව අඩු වීම, නින්ද නොයාම, ඉදිමුම, අණ්ඩවාත, කොරවීම... ආදිය සහ ලේ දූෂ්‍ය වීමෙන් හට ගන්නා ශරීරයේ නිල් හෝ කළු ලප මතුවීම... ආදිය සුව වෙනවා. අධි රුධිර පීඩනය සුව වෙනවා. වියළි බව දුරු වෙලා සම පැහැපත් වෙනවා. කාන්තාවන්ගේ මාස් සුද්දි ආබාධ සුව වෙනවා.

## අරළු අරිෂ්ටය

අරළු, බුළු, නෙල්ලි ගස්වල පස්පංගුව අමු බරින් එක පංගුවකින් ග්‍රෑම් 100 බැගින් සියල්ල කිලෝ 1.5 යි (එක හමාරයි). මේ සියල්ලටම පිරිසිදු වතුර බෝතල් 7.5 ක් (හත හමාරක්) එකතු කරල බෝතල් 6 කට බස්සවාගෙන පෙරාගන්න. ඒ එන කසායට කරුංක කිලෝ 1 ක් සුදු අළු මට්ටමට පුච්චගෙන එන අලු මිශ්‍ර කරගන්න.

ඊට පිරිසිදු කිතුල් පැණි මිලි ලීටර් 225 ක් සහ මුද්දරස්පලම් කිලෝ 1 ක්, වියළි මී මල් ග්‍රෑම් 200 ක කුඩු වතුර බෝතල් 2.4 කින් (මිලි ලීටර 1800) අඹරගෙන මිශ්‍ර කරල දින 28 ක් තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 1 ½ බැගින් මාස 3 ක් ගන්න. මේ මගින් සියලු උදරාබාධ, අර්ශස්, ලියුකේමියා (ලේ පිළිකාව), තැලසීමියා, නහර ගැට ගැසීම, හෘදයාබාධ ඇතුළු සියලු රුධිර දෝසවලට මුල් වූ ආබාධ සුව වෙනවා. අධි රුධිර පීඩනය සුව වෙනවා.

(සැ. යු. - අරිෂ්ට වර්ග පෙරීමේදී හැමවිටම පිරිසිදු කපු රෙදි කැබැල්ලක් භාවිතා කරන්න.)

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිවන් ලැබ දෙන

# කමටහන්...

17 කොටස



දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් කිහිපයක් මේ විදිහට සටහන් කරනවා.

මේ සමහර කර්මස්ථාන මීට පෙරත් සඳහන් කළ කර්මස්ථානවලට සමාන බවක් පෙනුනත්, ඒවායේ යම් යම් වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ අවස්ථාවන්ට අනුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. ඒ නිසා තමන්ට වඩාත් ගැලපෙන කර්මස්ථාන තෝරගන්න.

කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කමටහන් වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත් කරගන්න පුළුවන්.

348.සම්මා සම්බුදු සරණයි
සත්වයා පෙළීම් පිඩකි, බය පිඩකි, ජරා මරණ පිඩකි, අසාරයි
ලෝකය පෙළීම් පිඩකි, බය පිඩකි, ජරා මරණ පිඩකි, අසාරයි
මේ ශරීරය පෙළීම් පිඩකි, බය පිඩකි, ජරා මරණ පිඩකි, අසාරයි
මමද සියලු සත්වයෝ අසාර වූ ලෝකයට බැඳෙන
අවිජ්ජාවන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
සංඛාරයන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
විඤ්ඤාණයන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
නාමරූපයන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
සළායතනයන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
ස්පර්ශයන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
වේදනාවන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
තණ්හාවන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
උපාදානයන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
භවයන්හි ඡන්දරාගයෙන් නිදහස් වෙත්වා
ජාතීන්හි ඡන්දරාගයෙන් <u>නිදහස් වෙත්වා</u>
සාදු! සාදු! සාදු!
(අවසානයට ඉරි ඇඳි කොටස වැඩි වාර ගණනක් වඩන්න)

349. සම්මා සම්බුදු සරණයි

සත්වයා පෙළීම් පිඩකි... (ඉහත පරිදිම යොදාගන්න)

මමද සියලු සත්වයෝ අසාර වූ ලෝකයට බැඳෙන තණ්හා උපාදාන මළ පුඩුවෙන් <u>නිදහස් වෙත්වා</u> (ඉරි ඇඳි කොටස වැඩි වාර ගණනක් වඩන්න)

350.මේ ශරීරය පෙළීම් පිඩකි,
දුක් පිඩකි, ජරා මරණ පිඩකි,
අසාරයි
සියලු ශරීර පෙළීම් පිඩකි,
දුක් පිඩකි, ජරා මරණ පිඩකි,
අසාරයි
සියලු ලෝක පෙළීම් පිඩකි,
දුක් පිඩකි, ජරා මරණ පිඩකි,
අසාරයි
මමද සියලු සත්වයෝ අසාර වූ ලෝකයට බැඳෙන ඡන්දරාගයෙන් <u>නිදහස් වෙත්වා</u>
(ඉරි ඇඳි කොටස වැඩි වාර ගණනක් වඩන්න)

351.මේ ශරීරය මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත් වන්නේමය
සියලු ශරීරයෝ මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත්වන්නෝමය
සියලු ශරීරයෝ මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත්වීම ධර්මස්වභාවය කොට ඇත්තාහුය
මුලාවට පත් සත්වයෝ මෙබඳු ශරීර යහපතැයි ගෙන ඒ ඒ උපාදානයන්හි ඇලී ගැලී වාසය කරන්නාහුය
ප්‍රඥාවන්තයෝ මෙබඳු ශරීර නිසරු යැයි දැන ඒ ඒ උපාදානයන්හි නොඇලෙන්නාහුය නොබැඳෙන්නාහුය මිදෙන්නාහුය

353.සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක සියලු සත්වයෝ කෙරෙහි
සියලු වින බන්ධන මාර බන්ධන හිර බන්ධන
සුනුවිසුනු වෙත්වා දැවී අළු දූලි වෙත්වා
නිබ්බාන පරම සුඛයෙන් සුඛිත තර වෙත්වා



තමන්ටත් ලෝක සත්වයන්ටත් ඇතිවන භය තැති ගැනීම් දුරු කරගන්න ප්‍රබල කමටහනක් තමයි මේ. කාගෙවත් උදව් ඉල්ලගෙන පසුපස යන්නෙ නැතිව, ස්ථානගත දෝස ඇතුළු සියලු අණවින කොඩිවින මාර බන්ධන කැපිල යන්න මේ කර්මස්ථානය වැඩීම හේතු වෙනවා. බැඳල හිර කරල තියෙන අමනුස්ස දෝස තියේ නම් සියල්ල කැපිල යනවා. ශරීරයට තද වෙලා හිර වෙලා තියෙන කැක්කුම් බලා ඉඳෙද්දිම පිච්චි පිච්චි සුනු විසුනු වෙලා නිදහස් වෙලා යනවා.

හැබැයි මේ කර්මස්ථානය වඩා ගෙන යනකොට ඇඟට අමාරුකම් දැනෙන්න පුළුවන්. මොකද ශරීරයට බැඳිල තියෙන දොස් පුච්චන කොට එහෙම වෙනවා. චිත්ත කිරණක් නිපදවිලා ශරීරය ඇතුලෙ හිර කරල බැඳිල තිබුණ අමනුස්ස ගුහා සහිත පිළිකා සෛල ආදියක් තිබුන නම් ඒවත් පිච්චිලා යනවා. එහෙම පිච්චිලා ගිහින් කොටසක් ප්‍රස්වාස වායුවට එකතු වෙලා පිටවෙලා යනවා. තව කොටසක් මළ මූත්‍ර, දහදිය හරහා පිට වෙලා යනවා. එහෙම පුච්චනකොට හිරවීම් වැඩියෙන් තිබුන අයට වැඩිපුර අමාරුයි. ඒ වගේ වෙලාවට කර්මස්ථානය වඩල මහන්සි එනකොට ඒ වැඩීම තාවකාලිකව නතර කරල, මීට පෙරත් පෙන්වා දුන් ආකාරයට සුසුම් හැරීමෙන් මහන්සිය නිවා ගෙන නැවත කමටහන වඩන්න පටන් ගන්න.

ඔය විදිහට ටික කාලයක් වඩා ගෙන යනකොට ශරීරය ඇතුලෙ තද වෙලා හිර වෙලා තිබුණ ගෙඩි, බිබිලි ආදී සියල්ල තුනී වෙලා දියවී දියවී යන හැටි තමන්ටම දැනෙන්න ගන්නවා. ඒ විදිහට ශරීර අභ්‍යන්තරය සම්පූර්ණයෙන් සුද්ධ වෙලා නිදහස් වෙලා ගියාට පස්සෙ හරි සැහැල්ලුයි. ඊට පස්සෙ නිවන් ශාන්තියේ හිත පිහිටෙව්වම කිසි අමාරුවක් නෑ. හොඳ මානසිකත්වයක් එනවා. කය නිසා ඇතිවෙච්ච වේදනා කැක්කුම් බලාගෙන ඉඳෙද්දි අඩුවෙලා යනවා.

මෙතැනදි කෙලෙස් නිසා ඇතිවෙච්ච අපද්‍රව්‍ය, ප්‍රඥා ගින්නෙන් දවල අළු කරන එකයි කරන්නෙ. එහෙම නැතිව කිසිම සත්ත්වයෙකුට දැවෙන්න අළු වෙන්න කියන්නෙ නෑ. බැඳිල හිර වෙලා කුපිත වෙලා තියෙන වා පිත් සෙම් සහ ඒවාට හේතු වෙලා තියෙන කළු කිරණ බන්ධන, කිරණ කයට තියෙන අඳුරු කිරණ මේවා තමයි පුච්චන්නෙ.

ඉතින් මේ කර්මස්ථානය වඩා ගෙන යනකොට සමහර අයට දහදිය දාන්න ගන්නවා, ක්ලාන්ත කැරකිලි ගති එන්න ගන්නවා. එතකොට සිසිල් තැනක ඉඳගෙන හරි විදුලි පංකාවක් දාගෙන හරි කමක් නෑ දිගටම වඩාගෙන යන්න. ඒ සියල්ල පිච්චිලා යනකල් විතරයි ඒ අමාරුකම් එන්නෙ. බුදු පිළිසරණ අධිෂ්ඨාන කරල මුල් කරල තියෙන නිසා කිසිම බාහිර බලවේගයකට බලපෑම් කරන්න බැරිව යනවා. ඒ තමයි බුදු සරණින් ලැබෙන භෞතික නිදහස. ඒ මගින් කයේ නිදහස් බවටත් හිතේ නිදහස් බවටත් පසුතලය හැදෙනවා.

අවසානයේ “නිබ්බාන පරම සුඛයෙන් සුඛිත තර වෙත්වා” කිව්වම, ඒක තමයි ශාන්ත වූ ප්‍රණීත වූ නිවන සිහි කරන කමටහන. එතකොට නිශ්චලභාවයේ හිත පිහිටමින් කායික වෙහෙසින් මිදෙමින් සුද්ද වෙලා නිදහස් වෙනවා. ඒ විදිහට වඩල හිත සුද්ධ කරගත්තට පස්සෙ කවුරුහරි අර වගේ බන්ධනයක් කළත් පිච්චිලා යනවා, නැවත වදින්නෙ නැතිව යනවා.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 97 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දයකත්වය**

■ පූජ්‍ය කිවුල්දෙනියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය මොරගොල්ලේ ඉන්දසුමන හිමි ■ පූජ්‍ය අවිස්සාවේල්ලේ පියරතන හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ අසංක හෙට්ටිආරච්චි මහතා - පාදුක්ක ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

**මූල්‍යමය දයකත්වය**

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමි දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රු ද සිල්වා දුව - දෝහා කටාර් - රු. 33,520/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දදිගම මහත්මිය - ඇමරිකාව - රු. 23840 ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 20,000/- ■ ගිරාගම ධර්මා සිල් මාතාව, හෙල්බඩ ධම්ම ශාන්තිනී සිල් මාතාව - රු. 12,000/- ■ සමන්ත දියෝගබදු මහතා, ගයනී ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබදු පුතා, ඩිලාරා දියෝගබදු දුව - ඩුබායි, ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය, ඒ. ඩී රූපා පෙරේරා මෙනවිය - නුගේගොඩ - රු. 12,000/- ■ එරන්ද මලිගස්පේ මහතා, වෛද්‍ය නිලූපා ගස්පේ මහත්මිය, කිවේන් මලිගස්පේ පුතා - ඇමරිකාව - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ අසිතා පැලැන්ද මහත්මිය, අසිත බණ්ඩාරනායක මහතා, නිපුනි බණ්ඩාරනායක මහත්මිය, දිනිත බණ්ඩාරනායක මහතා - රාගම - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,840/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, සුමුදු විද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - රද්දොළුගම, සසික

රත්නායක මහතා ඇතුළු පවුලේ සැම, එම්.ටී සුගතදස මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල - රු. 6,500/- ■ ජී. ධර්මසේන මහතා සහ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 5,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අභිෂ්ක හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පවුලේ සැම - තිහාරිය - රු. 5,000/- ■ අමරසිරි හේරත් මහතා, දම්සිත් විජේකෝන් පුතා, දියුති විජේකෝන් මහත්මිය - රාගම - රු. 4,180/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ උදේශා සංජීවනී මෙනවිය - යක්කල - රු. 4,000/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,540/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 3,540/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාෂා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,540/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3540 ■ ධම්මිකා කුමාරි රත්නායක මහත්මිය - මාහේන - රු. 3,500/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ කේ.ඒ.ඊ. විශුද්ධා තරුනෙතු මෙනවිය -රදවාන - රු. 3,000/- ■ මනෝජ් ජයසූරිය මහතා ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 3,000/- ■ ජේ. එම්. ඒ. බණ්ඩාර මහතා, වී. එස්. ජයතිලක මහත්මිය, ජේ. එම්. ඕ. නවින්ද්‍යා බණ්ඩාර දුව - නුවර - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,500/- ■ එච්. එස්. අරම්පොල මහතා ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 2,500/- ■ ඕනුදි ආදිත්‍යා පෙරේරා දියණිය - රණාල - රු. 2,500/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා, චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය සහ සෙතුකි දම්නාද අමරසේකර දුව - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ බී. ඒ. වීරසේන මහතා, සෙනරත් බස්නායක මහතා, හසිත කසුන් බස්නායක පුතා, කුසල් බස්නායක පුතා, අනුරිකා වීරසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - යක්කල - රු. 2,000/- ■ සුදන්ත සූරියබණ්ඩාර මහතා සහ ඉරේෂා සූරියබණ්ඩාර මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 2,000/- ■ එන්. ජී. ජයතිලක මහතා සහ එන්. ජයතිලක මහත්මිය - මහනුවර - රු. 2,000/- ■ ඩිලානි පෙරේරා මහත්මිය - හේනෙගම - රු. 2,000/- ■ උපුල් විජේනායක මහතා ඇතුළු පවුලේ සැම - මාවනැල්ල - රු. 2,000/- ■ සුනීතා බුලත්සිංහල මහත්මිය - ඕමාන් - රු. 2,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - උළුවිටිකේ, ගාල්ල - රු. 2,000/- ■ කේ. පී. ගුණදස මහතා - ගලපිටමඩ - රු. 2,000/- ■ ඩබ්. එම්. විජේසූරිය බණ්ඩාර මහතා සහ දිලානි දීපිකා බණ්ඩාර මහත්මිය ඇතුළු පවුලේ සැම - හසලක - රු. 1,510/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ ජගත් විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 1,500/- ■ උපුල් ජයරත්න මහතා සහ ගිහානී ජයරත්න මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 1,500/- ■ මහේෂ් ජීවන් කුමාර මහතා - මීගමුව - රු. 1,300/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ තිලකසිරි ජයරත්න මහතා, රොෂාන් මාලක මහතා, චතුරානි ඉන්දිකා මහත්මිය, හිමාෂා සේමිණි දුව, තිනෙත් හිමංජය පුතා - පස්යාල - රු. 1,200/- ■ සුභාවි දදිගම මෙනෙවිය - අතුරුගිරිය - රු. 1,170/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ ඩබ්. ඒ. එස්. සෙනෙහෙලතා මහත්මිය, එම්. එල්. එම්. සුමනසූරිය මහතා, එම්. එල්. එම්. දර්ශන මධුශංක මහතා සහ එම්. එල්. එම්. සසිඳු දුල්සිත පුතා - වේවැල්දෙනිය - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ නිලන්ති දබරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ ලලනි ජයරත්න මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ■ පැතුම් ශානුක ලොකුගේ මහතා - පාදුක්ක - රු. 1,000/- ■ පී. කේ. සිතුමි සනිල්කා දුව සහ පී. කේ. සදිල් මෙතුප පුතා - අවිස්සාවේල්ල - රු. 1,000/- ■ විශාඛා ඇටිපොල මෙනවිය - මාතලේ - රු. 1,000/- ■ එච්. ඉමිල අමල් වික්‍රමසිංහ මහතා - කොකිස්කඩේ හන්දිය - රු. 1,000/- ■ සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ ඒ. ඒ. වින්ද්‍යා නිර්මාණි දුව - රදවාන - රු. 1,000/- ■ කේ.ඒ. උපාලි ජිනදස මහතා දිවුරුම්පිටිය - රු. 1,000/- ■ හංසිකා සමරවීර දුව - නෙළුම්දෙනිය- රු. 1,000/- ■ ටී. වනිගරත්න මහතා වැලිවේරිය - රු. 1,000/- ■ ධනවතී සේනානායක මහත්මිය - පිළියන්දල - රු. 1,000/- ■ රසිකා ඇතුකෝරළ මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ පූජ්‍ය කිරුළපනේ කොට්ටිත හිමි, එන්. ඒ. දයාසීලී මහත්මිය සහ ෂේන් වාල්යා පතිරණ මෙනවිය - කටුවාවල - රු.1000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, චාන්දනී සමරකෝන් මෙනවිය - කන්තලේ, ඩබ්. ඩී. පද්මලතා මහත්මිය -වේයන්ගොඩ, අශෝකා පද්මිණී මහත්මිය, ස්වර්ණා පෙරේරා මහත්මිය - තිහාරිය, ශීලා ඉඳුරුව මහත්මිය - එල්ලක්කල, ජේ.ආර්. හීන්බණ්ඩාර මහතා - මහියන්ගනය - එකතුව - රු. 3,000/-, ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 415,420/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 18,725/- ■ සම්පූර්ණ වියදම - රු. 414,015/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු . 27.59/- ■ සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com  webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 0775003411/ 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා, 2 වන, 4 වන සහ 5 වන සෙනසුරාද භාවනා වැඩසටහන පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව – රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිඳිවැල - 071 0118101 ■ කුමාරි අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 0786949860 ■ පෝලර් රීජන්ස්, 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 066 2244061 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්ද්‍රාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871 ■ සඳමිණි පූජා භාණ්ඩ, කුලියාපිටිය පාර, දුම්මලසූරිය - 077 4430223

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# නැණවතා කම් සැපෙහි නොඇලේ

සැවතෙහි විසුව මා පිය දෙපළක ගුණැති
ඇසුරෙහි වැඩුන පුත් කුමරෙක් විය පිනැති
සසරෙහි හුරුව ලෙස පින දහමට හිතැති
සසුනෙහි පැවිදි විය මොහු සත් වන වියැති

විසු දහමට ලැදිව ගුණ දම් කළ පුරුදු
පසු කල 'අනභිරත' නාමෙන් විය පසිඳු
මුසු නොව වැරදි සිතුවිලි හෙබි ගුණ සුමුදු
දසු නකි සැමට මොහු සිත කරවන පුබුදු

හිමි නම තරුණයෙකි දැන් විසි වස සපිරී
පිය තුම මහළු විය ඇත සිය ගත වැහැරී
දරු පෙම එසේ වුව යයි හදවත ඉතිරී
යුතු කම ගැන සිතයි ඇති පියෙකුට පැවරී

නිසි කල් පැමිණ ඇත අද හෙට එයි මරුවා
වැඩි මල් පුතනු එබැවිනි ඔහු වෙත කැඳවා
අප සිල් වත් සමිඳු මෙහි කැඳවනු අණවා
සුචි සල් යුතුකමක් මෙපරිදි ඉටු කෙරුවා

කහවණු දෙසීයකි පණ මෙන් රැක ගත්තු
පවරනු අදහසය එය දෙපළට පුත්තු
ඩැහැගනු විලස ගොදුරක් දුටු විට සත්තු
පිළිගනු නොමැත මසු පැවිදි වූ ගුණ වත්තු

රන් මසු හරි අඩක් එනමුදු හිමි නමට
වෙන් කර තැබුනි චීවර සහ පිරි කරට
දැන් විය එබව පියතුම තම දෙටු පුතුට
ඉන් පසු කලක් ගත විය සුපුරුදු ලෙසට

සසු නෙහි නොරැඳ ගිහි වෙමි යන මුලාවෙනි
පසු කල තරුණ හිමි නම උකටලී වුනි
විසු මෙහි කළකිරුනි පිඬු සිඟා යැපීමෙනි
මසු රන් සියය පිළිබඳ සිත මනාපෙනි

ගිහි වනු පිණිස මොහු තුල පැවති අදහස
පිළිගනු ලදුව සෙසු මහ සඟන අබියස
හමුවනු පිණිස යති බුදු සමිඳු එවිගස
පහදනු මැනවි හිමියනි සුදුසු උවදෙස

කහවණු වැසි වසින මුත් සෑහෙනු නැති සේ
නොදැමුනු අය ඇලෙති කම් සුවයෙහි රිසි සේ
කෙලෙසුනු නැති සුදන සුර සැප වුව නිසි සේ
විඳගනු හැකි වුවද නොඇලෙති එහි කිසි සේ

රූ සඳ ගඳ රසය පහසට ලොබ වඩන
ඒ හැම සතට හමුවෙනු කෙලෙසද නිවන
ලෝ සත නැණැති කම් සැපතෙහි නොම ඇලෙන
ආදර්සයට ගනු දෙසු පැහැදුනි සමන

(ධම්ම පදය - බුද්ධ වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# නිවුනා නම් තමන්ටම හැක දැනගන්න

ගිහි ගෙයි ඉඳ ගෙනත් අරිහත් ඵලය කියා
බිහි වෙයි සමහරුන් තවමත් ධනය සොයා
සිහි නැති එවුන් සේ ඒ පසු පසම නොයා
එහි ඇති දහම විමසනු නැණ නුවණ අයා

එළි පෙනෙනා විටදී කය වෙත සුවය දෙන
මැළි වෙත එයද අත හරිනට උඩඟු මන
පිළිබඳ බලා අන් අය තතු කියන දන
ඇලි ඇලි ඉඳියි මේ නිවනයි හිතන තැන

තවෙකෙක් නෙවෙයි තම හිත නිවුනද දන්නේ
දෙවියෙක් බඹෙක් කීවත් නොම පිළි ගන්නේ
තිදොසක් පෙළන බව නම් මනසට එන්නේ
දහමක් දෙසුව පළියට ගුණ නො වැඩෙන්නේ

ගෙවුනා දෝ බලන් තුන් දොස හිත දුන්න
නිවුනා නම් තමන්ටම හැක දැන ගන්න
දැවුනා නම් කෙළෙස් කුමකට ඇවිලෙන්න
නොවුනා නම් තවත් ඇත ලොව හැර යන්න

නිවනෙහි සොබ නොදැක නිවනයි කියන දනා
රැවටෙයි හේතු ඵල ලෙස පෙර සසර ගෙනා
පවතින්නට හිතක් නැති නම් එයම මනා
තවමත් නොමැති නම් ඒ හිත වඩනු මැනා

නිවෙනා දහම දෙසමින් සමහරු මනස
දැවෙනා තරම පතුරන්නට තම අණස
අහනා උදවියට නැතිවන විට නැණස
නොවෙනා හිතක් දම් නොදහම් ගැන වෙනස

උතුරු මිනිස් දම් කීවොත් කපටි කමින්
නපුරු වෙනව මතු දිනකදි දුකම දෙමින්
මිතුරු සැබෑ නම් ලොව අත හරින පෙමින්
සතුරු කම් කුමට මේ තුම් දහම නමින්

නැති ගුණ කියා ඇති මග නොවසා ගන්නේ
සිතිවිලි නැගුණු තරමට නොකියා ඉන්නේ
නිති සිත අවදියෙන් "මම" විමසා ලන්නේ
ගති වෙනසකින්මයි සිත නිවුනා වන්නේ

අරිහත් ඵලය සුළු දෙයකැයි නොසිතන්නේ
ලැබුනොත් ලොවෙහි ඉන්නට හිත නොම වන්නේ
හිටියත් එයද වෙහෙසක් බව වැට හෙන්නේ
නොමවෙත් හිතක් ඇළෙනට ලොව කොතැනින්නේ

අරිහත් ඵලය රඟපානට නොහැකි වෙනා
නොතිබෙත් වැඩි කලක් පෙර තිබු ගතිය එනා
දිරිමත් වෙලා අරි අට මග වඩන දනා
සිරි සත් දහම විමසා නිවනටම යනා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.